- අයදුම්කාරිය අ.පො.ස. (උ.පෙළ) විභාගයෙන් එකවර විෂයයන් 03ක් සමත්විය යුතුය.

*සටහන 01* : ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුවේ විෂය වර්ගීකරණය අනුව විෂයය අංක 41, 44 දරන විද්‍යා විෂයය යුගලය එක් විෂයයක් ලෙස ද, අංක 42 සහ 45 දරන ගණිතය විෂයය යුගලය එක් විෂයයක් ලෙස ද, සලකා විභාග යෙන් සමත් විෂයය සංඛ්‍යාව තීරණය කරනු ලැබේ.

*සටහන 02* : අ.පො.ස (සා. පෙළ) විභාගයේ තාක්ෂණ විෂයය ලිඛිත පරීක්ෂණයෙන් අසමත්වීම එම විෂයයේ ප්‍රායෝගික පරීක්ෂණය සමත් වුව ද එම විෂයය අසමත් ලෙස සලකනු ලැබේ.

*සටහන 03* : වෛකල්පිත දෙමළ, ඉංග්‍රීසි සහ සිංහල විෂයය අ.පො.ස. (සා. පෙළ) විෂයය ධාරාවට ඇතුළත් නොවන හෙයින් එම විෂයයන් සමත්වීම අ.පො.ස (සා. පෙළ) විභාගයෙන් සමත් විෂයයක් ලෙස ගණනය කරනු නොලැබේ.

(ඈ) *ශාරීරික සුදුසුකම්* :

- උස අඩි 05 යි. අඟල් 04 යි. (අවම),

*සටහන* : විශිෂ්ට ක්‍රීඩා කෞෂල්‍යයකින් යුක්තවූත් ජාතික ක්‍රීඩා සංචිතයක සිට ජාතික මට්ටමේ ක්‍රීඩාවල දී විශිෂ්ටත්වයක් දක්වා ඇති හෝ ජාත්‍යන්තර තරගයකට සහභාගි වී ශ්‍රී ලංකාවට කීර්තියක් අත්කර දුන් අයදුම්කාරියකගේ ශාරීරික සුදුසුකම් මඳක් අඩු වුව ද අනෙක් සුදුසුකම් සපුරා ඇතිනම් පොලිස්පතිගේ අභිමතය පරිදි බඳවා ගැනීම සඳහා සුදුසුකම් ලබයි.

(ඉ) *දෘෂ්ටිය පිළිබඳ අවශ්‍යතාවයන්*.— එක් ඇසක දෘෂ්ටිය 6/12 අඩු නොවිය යුතු ය. දෘෂ්ටිය එක් ඇසක 6/6 සහ අනෙක් ඇසෙහි 6/18 වේනම් එය ද පිළිගනු ලැබේ. වර්ණ දෘෂ්ටිය සාමාන්‍ය විය යුතු ය. යම් අයදුම්කාරියක් උපැස් යුවලක් හෝ ස්පර්ශකාච පාවිච්චි කරන්නේ නම් ඔවුන් සේවයට නුසුදුසු වේ.

(ඊ) *අනෙක් සුදුසුකම්* :

* අයදුම්කාරිය අවිවාහක විය යුතු ය. (දික්කසාද වූවන් ද මේ සඳහා නුසුදුස්සන් ලෙස සැලකේ.) අනෙකුත් සුදුසුකම් සම්පූර්ණ කර තිබෙන දැනටමත් ශ්‍රී ලංකා පොලිසියේ සේවය කරන පොලිස් නිලධාරිනියන්ට මෙම කොන්දේසිය පමණක් අදාළ නොවේ.

05. *බඳවා ගැනීමේ ක්‍රමය* :

- අයදුම්පත් අනුව සුදුසුකම් ලබන අයදුම්කරුවන් සඳහා ශ්‍රී ලංකා පොලිසිය විසින් පවත්වනු ලබන මූලික සුදුසුකම් පරීක්ෂා කිරීමේ පරීක්ෂණයෙන් සමත්විය යුතු ය. මූලික සුදුසුකම් පරීක්ෂා කිරීමේ පරීක්ෂණයෙන් සමත් වන අයදුම්කාරියන් පහත සඳහන් ශාරීරික යෝග්‍යතා පරීක්ෂණය *හෙවත්* ඔරොත්තු දීමේ පරීක්ෂණය, එනම් දරා ගැනීමේ ශක්තිය උරගා බැලීමේ පරීක්ෂණයෙන් සමත් විය යුතු ය.

මීටර් 1000 - මිනිත්තු 05 තත්පර 14

- යෝග්‍යතා පරීක්ෂණයෙන් සමත් වන අයදුම්කාරියන් පමණක් අවසන් සම්මුඛ පරීක්ෂණයට කැඳවනු ලැබේ. අවසන් සම්මුඛ පරීක්ෂණයෙන් ලකුණු 40% ක් හෝ ඊට වඩා ලකුණු ලබා ගන්නා අයදුම්කාරියන් පමණක් ලිඛිත පරීක්ෂණයට කැඳවනු ලැබේ.

ලිඛිත පරීක්ෂණය ප්‍රශ්න පත්‍ර දෙකකින් සමන්විත වේ. එනම්,

- වාක්‍ය රචනය ප්‍රශ්න පත්‍රය.—කාලය විනාඩි 45 යි. වචන 500 කට නොඅඩු විය යුතු ය.
- සාමාන්‍ය දැනීම හා බුද්ධි පරීක්ෂණය ප්‍රශ්න පත්‍රය.—කාලය පැය 01 යි.

06. *වෛද්‍ය පරීක්ෂණය* :
අයදුම්කාරියන් ස්වකීය පත්වීමට පෙර වෛද්‍ය පරීක්‍ෂණයකින් සමත් විය යුතු ය. වෛද්‍ය පරීක්‍ෂණයට බඳවා ගැනීම් ක්‍රියාවලියේ එක් අංගයක් පමණි. වෛද්‍ය පරීක්‍ෂණයෙන් සමත් වූ අයදුම්කාරියන් අතරින් පවතින පුරප්පාඩු ප්‍රමාණය, ප්‍රමුඛතා හා කුසලතා ලැයිස්තුව අනුව තෝරා ගනු ලැබේ. වෛද්‍ය පරීක්‍ෂණයෙන් අසමත් වුවන් ප්‍රතික්ෂේප කරනු ලැබේ.

07. *පසුබිම් පරීක්ෂණය* :

(අ) අයදුම්කාරියන්ගේ යහපත් චරිතය තහවුරු කර ගැනීම සඳහා ඇය හා ඇයගේ සමීප ඥාතීන්ගේ ද, ඇය ඇසුරු කරන්නන්ගේ යහපත් චරිතය හා හැසිරීම සම්බන්ධව පරීක්ෂණ පවත්වනු ලබන අතර අයහපත් පසුබිම් වාර්තා සහිත අයදුම්කාරියන් බඳවා ගනු නොලැබේ.

(ආ) බඳවා ගැනීමේ දී අයදුම්කාරියන් විසින් අසත්‍ය තොරතුරු සැපයීම ඇය බඳවා ගැනීමට නුසුදුසුකමක් වේ. අසත්‍ය තොරතුරු සැපයූ බව බඳවා ගැනීමෙන් පසුව හෙළිවුවහොත් සේවයෙන් ඉවත් කරනු ලැබේ.

08. *රාජ්‍ය භාෂා ප්‍රතිපත්තිය ක්‍රියාත්මක කිරීම* :

- රාජ්‍ය පරිපාලන හා ස්වදේශ කටයුතු අමාත්‍යාංශය විසින්, 2007.04.28 වැනි දින නිකුත් කර ඇති රාජ්‍ය පරිපාලන චක්‍රලේඛ 07/2007 අනුව 2007.07.01 වැනි දින සිට රාජ්‍ය සේවයට/පළාත් රාජ්‍ය සේවයට බඳවා ගනු ලබන සියලුම නිලධාරින්/නිලධාරිනියන් සේවයට බැඳුණු රාජ්‍ය භාෂාවට අතිරේක වශයෙන් අනෙක් රාජ්‍ය භාෂාව පිළිබඳව ප්‍රවීණතාවක් සේවයට බැඳී වසර 05 ක් තුළ ලබා ගත යුතු ය.

- 2007.07.01 වැනි දින සිට ශ්‍රී ලංකා පොලිස් සේවයට බඳවා ගනු ලබන සහකාර පොලිස් අධිකාරි තනතුරට පහළ තනතුරු දරන නිලධාරීන්/නිලධාරිනියන් රාජ්‍ය භාෂා දෙපාර්තමේන්තුව පවත්වන ද්විතීයික කුසලතා මට්ටමේ භාෂා පාඨමාලා පරීක්ෂණයෙන් සමත් විය යුතුය.

- පත්වීමේ දින සිට වසර 05 ක් තුළ නියමිත දෙවන භාෂා ප්‍රවීණතාව ලබා නොගන්නා නිලධාරීන්/නිලධාරිනියන්ගේ වැටුප් වර්ධක, සුදුසුකම් ලබා ගන්නා තෙක් නතර කරනු ඇත.

09. *පත්වීමේ කොන්දේසි* :

- මෙම පත්වීම ස්ථිරය. විශ්‍රාම වැටුප් සහිතය. වැන්දඹු/වැන්දඹු පුරුෂ අනත්දරු විශ්‍රාම වැටුප් ක්‍රමයට දායක මුදල් ගෙවිය යුතුය.

10. *සේවා කොන්දේසි* :—

(*අ*) පත්වීම තුන් අවුරුදු පරිවාස කාල පරිච්ඡේදයකට යටත් වනු ඇත.

(*ආ*) තෝරා ගනු ලබන අයදුම්කාරියන් රාජ්‍ය භාෂා ප්‍රතිපත්තිය ක්‍රියාත්මක කිරීම සඳහා ද, දැනටමත් සම්පාදිතව පවත්නා හෝ මින් මතු සම්පාදනය කරනු ලබන කිසියම් නියෝග යක් වෙතොත් ඒවාට ද අනුකූලව කටයුතු කළ යුතු ය.

(*ඇ*) ඔවුහු ආයතන සංග්‍රහයේ පළමුවැනි සහ දෙවැනි වෙලුමේ අඩංගු නියෝගයන්ට ද මුදල් රෙගුලාසි, දෙපාර්තමේන්තු නියෝග සහ පොලිස්පතිවරයා විසින් හෝ රජය විසින් හෝ කලින් කලට නිකුත් කරනු ලබන වෙනත් කිසියම් නියෝගයක් වෙතොත් ඒවාට ද යටත් විය යුතු ය.

(*ඈ*) තනතුර ස්ථිර කිරීමට පෙර සෑම නිලධාරිනියකම නියමිත දෙපාර්තමේන්තු පරීක්ෂණවලින් සමත් විය යුතු වේ. නියමිත පරීක්ෂණයන්ගෙන් සමත්වීමට අපොහොසත් වන්නවුන් හෝ පොලිස් රාජකාරි කටයුතු සඳහා නුසුදුසු යැයි නිගමනය කරනු ලබන අයවලුන් ද සේවයෙන් ඉවත් කිරීමට ඉඩ ඇත.

(*ඉ*) පත්කර ගනු ලැබූ නිලධාරිනියන්ට පොලිස්පතිගේ විශේෂ අවසරය නොමැතිව ඔවුන්ගේ තනතුරෙහි ස්ථිර වනතුරු විවාහ වීමට අවසර දෙනු නොලැබේ. එසේ වුව ද 1973 පෙබරවාරි මස 28 දාතමින් පොලිස් *ගැසට්* II අංක 41 දරන නිවේදනය අනුව හා 2006.10.19 වැනි දින පොලිස්පති චක්‍රලේඛ අංක 1952/2006 අනුව හා 2007.08.09 වැනි දින එම චක්‍රලේඛයේ සංශෝධනය අනුව විශේෂ හේතූන් මත පොලිස්පතිගේ අවසරය ඇතිව විවාහ වීමට හැකියාව ඇත.

(*ඊ*) අයදුම්කාරියන් පත්කර ගනු ලැබ පුහුණුවෙන් පසු වසර 03 ක පරිවාස සේවා කාලයක් ශ්‍රී ලංකා පොලීසියේ සේවය කළ යුතු වන අතර මෙම පරිවාස සේවා කාලය අවසන් වීමට පෙර ඔවුන් ඉල්ලා අස්වීමට කැමැත්තේ නම් ඔවුන්ගේ පුහුණුව සඳහා නිල ඇඳුම් ආදිය සම්බන්ධයෙන් දරන්නට සිදු වූ අනෙකුත් වියදම්, ඉල්ලා අස්වීමේ ලිපිය භාර දෙන අවස්ථාවේදීම නියම කරන ලද මුදලක් ගෙවීමට කැමැත්ත පළ කිරීමේ ගිවිසුමක් ඔවුන් විසින් අත්සන් කළ යුතු ය. මෙම ගෙවීම ශ්‍රී ලංකා පොලිස් විද්‍යාලයේ අධ්‍යක්ෂ විසින් ගණන් බලා තීරණය කරනු ඇත. ඉල්ලා අස්වීම භාර ගැනීම සම්බන්ධයෙන් 1985 හි 1 වැනි වෙලුමෙහි ආයතන සංග්‍රහයේ 5 වැනි පරිච්ඡේදයේ වගන්ති 04 ට අනුකූල විය යුතු ය.

(*උ*) ආධුනික කාන්තා උප පොලිස් පරීක්ෂකවරියන්, පුහුණුව ආරම්භ කළ වහාම පොලිස්පති චක්‍රලේඛ අංක 1693/2003 අනුව පොලිස් ආචාර ධර්ම සංග්‍රහයට අනුකූලව ක්‍රියා කරන බවට ප්‍රතිඥා/දිවුරුම් දිය යුතු ය.

(*ඌ*) ආධුනික කාන්තා උප පොලිස් පරීක්ෂකවරියන්, පුහුණුව ආරම්භ කළ වහාම පොලිස්පති චක්‍රලේඛ අංක 1804/2004 අනුව අභිමානවත් රාජ්‍ය සේවයකට කැපවීමේ ස්වයං ප්‍රතිඥාව දිය යුතු ය.

(*එ*) ආධුනික කාන්තා උප පොලිස් පරීක්ෂකවරියන් ශ්‍රී ලංකා පොලීසියේ අනුමත උසස් කිරීමේ පටිපාටිවලට අනුකූලව උසස් කිරීම සඳහා අවකාශ තිබේ.

11. (*අ*) මෙම *ගැසට් පත්‍රයේ* I කොටස (II අ) වැනි ඡේදයේ ආරම්භයේ පළ කරන ලද රාජ්‍ය සේවා තනතුරුවලට පත්කිරීම් සම්බන්ධයෙන් අදාළවන පොදු කොන්දේසි බලපානු ඇත.

(*ආ*) 1990.03.10 වැනි දින අංක 15/90 දරන රාජ්‍ය පරිපාලන චක්‍රලේඛ පරිදි බඳවා ගැනීම් සිදු කරනු ලැබේ.

12. අයදුම්කාරියන් පහත දැක්වෙන ලිපි ලේඛනවල පිටපත් ස්වකීය අයදුම්පත්‍රවලට අමුණා එවිය යුතු ය. (මුල් ලිපි ඉදිරිපත් නොකළ යුතුය.)

(*අ*) උප්පැන්න සහතිකය,

(*ආ*) චරිතය පිළිබඳව මෑතක දී ලබාගත් සහතික දෙකක්, (ඥාතීන් නොවන),

(*ඇ*) අධ්‍යාපන සුදුසුකම් සනාථ කිරීම සඳහා වූ සහතික,

(*ඈ*) විශේෂ වාර්තා සහිත ක්‍රීඩා පිළිබඳ සහතික හෝ විෂය බාහිර කටයුතු සම්බන්ධයෙන් ලබාගත් සහතික,

(*ඉ*) සේවා පළපුරුද්ද සම්බන්ධ සහතික, (තිබේ නම් පමණක්),

(*ඊ*) ජාතික හැඳුනුම්පතෙහි ඡායා පිටපතක්.

13. (*අ*) දැනටමත් රාජ්‍ය සේවයෙහි නියුතුව සිටින අයදුම්කාරියන් ඔවුන්ගේ අයදුම්පත් අදාළ දෙපාර්තමේන්තු ප්‍රධානීන් මගින් ඉදිරිපත් කළ යුතු ය. අයදුම්කාරිය තෝරා ගන්නා ලද්දේ නම් ඇය නිදහස් කළ හැකි බවට සහතිකයක් යාකළ යුතුය.

(*ආ*) අයදුම්කාරිය විසින් අයදුම්පත අඟල් 11 x 8 ප්‍රමාණයේ කඩදාසිවල ස්වකීය අත් අකුරුවලින්ම සම්පූර්ණ කර අදාළ සහතික පිටපත් සමග ඉහත දෙවැනි ඡේදයේ දක්වා ඇති ලිපිනයට ලැබෙන සේ එවිය යුතු අතර කුමන හෝ හේතුවක් නිසාවත් එය කිසියම් නිලධාරියකු වෙත පෞද්ගලිකව බාර නොදිය යුතු ය.

14. මෙම නිවේදනයෙහි දක්වා ඇති අවශ්‍යතාවන් සෑම අයුරකින්ම සනාථ නොකරන අයදුම්පත් ප්‍රතික්ෂේප කෙරෙනු ඇත. එබඳු අයදුම්කාරියන්ට ඒ සම්බන්ධයෙන් පිළිතුරු එවනු නොලැබේ.

*සටහන.*— පරීක්ෂණ හා සම්මුඛ පරීක්ෂණවලට කැඳවනු ලබන අයදුම්කාරියන්ට ගමන් වියදම් හෝ අනෙකුත් වියදම් කිසිවක් ගෙවනු නොලැබේ.

පූජිත් ජයසුන්දර,
පොලිස්පති.

පොලිස් මූලස්ථානය,
කොළඹ 01.

අඟල් 2

අඟල් 1 1/2 | කාර්යාලයීය ප්‍රයෝජනය සඳහා |

**ශ්‍රී ලංකා පොලීසිය**

***ආධුනික කාන්තා උප පොලිස් පරීක්ෂක තනතුර (සාමාන්‍ය)***

*ආදර්ශ අයදුම්පත්‍රය*

01. (*අ*) සම්පූර්ණ නම :————.
(පැහැදිලි ලොකු අකුරෙන්) උප්පැන්න සහතිකයේ සඳහන් කර ඇති පරිදිම විය යුතුය.

(*ආ*) නම (මුලකුරු සමඟ) :————.

(*ඇ*) අයදුම් කරන තනතුර :————.

02. ජාතික හැඳුනුම්පත් අංකය :————.
(ජාතික හැඳුනුම්පතේ ඡායා පිටපතක් අමුණා එවිය යුතුය.)

03. පියාගේ සම්පූර්ණ නම :————.

04. අයදුම්කරු උපන් ස්ථානය :————.
උපන් ස්ථානයට අදාළ ප්‍රාදේශීය ලේකම් කාර්යාලය :————. පළාත :————.

05. (*අ*) වර්තමාන ලිපිනය :————.
(*ආ*) වර්තමාන ලිපිනයට අදාළ පොලිස් ස්ථානය :————.
(*ඇ*) ස්ථිර ලිපිනය :————.
(*ඈ*) ස්ථිර ලිපිනයට අදාළ පොලිස් ස්ථානය :————.
(*ඉ*) ස්ථිර ලිපිනයට අදාළ ග්‍රාම නිලධාරි වසම :————.
ප්‍රාදේශීය ලේකම් කාර්යාලය :————.
(*ඊ*) ලිපි හුවමාරු කල යුතු ලිපිනය :————.
(*උ*) දුරකථන අංකය : නිවස :————. ජංගම :————.

06. (*අ*) ජාතිය :————.

(*ආ*) ඔබ ශ්‍රී ලංකා පුරවැසියෙකු වූයේ පරම්පරාවෙන් ද ? *නැතහොත්* ලියාපදිංචි කිරීමෙන් ද ? (ලියාපදිංචි වීමෙන් නම් එම සහතිකයේ පිටපතක් අමුණන්න) :————.

(*ඇ*) ඔබ පුරවැසියෙකු වූයේ පරම්පරාවෙන් නම් උපන් ස්ථානය :————.
* අයදුම්කරු :————.
* අයදුම්කරුගේ පියා :————.
* අයදුම්කරුගේ පිය පක්ෂයේ මුත්තා :————.
* අයදුම්කරුගේ පිය පක්ෂයේ මී මුත්තා :————.

07. උපන් දිනය :————. (උප්පැන්න සහතිකයේ ඡායා පිටපතක් ඇමිණිය යුතුයි)
වයස : (*ගැසට්* නිවේදනය අනුව අයදුම්පත් භාරගන්නා අවසන් දිනට)

අවුරුදු :————. මාස :————. දින :————.

08. උස : අඩි :————. අඟල් :————.

09. අධ්‍යාපන සුදුසුකම් : (සමත් වී ඇති විභාගයන් සඳහන් කර සහතිකවල පිටපත් අමුණා එවිය යුතුය) :————.

10. අතිරේක සුදුසුකම් :————. (සහතික පත්වල ඡායා පිටපත් ඇමිණිය යුතුය)

11. විවාහක/අවිවාහක බව :————.

12. (*අ*) දැනට කරන රැකියාව :————.
(*ආ*) ඔබ සන්නද්ධ සේවාවක සාමාජිකයෙක් ද ? :————.

13. ඔබට විශේෂ දක්ෂතාවයන් හෝ සුදුසුකම් තිබේ ද ? :————.

14. අයදුම්කරු ගැන විමසුම් කළ හැකි ඥාතීන් නොවන දෙදෙනෙකුගේ නම් සහ ලිපිනයන් :

(*අ*) ————.

(*ආ*) ————.

15. ඔබ මීට පෙර ශ්‍රී ලංකා පොලිසියේ සේවය කර තිබේ ද ? :———.

තනතුර සහ නිල අංකය :———.
එසේ නම් ඔබ තනතුරින් ඉවත් වූ හේතු සඳහන් කරන්න. :———.

16. (අ) ඔබ සන්නද්ධ සේවයක සේවය කරන්නේ ද? එසේ නම් අයදුම්පත අදාළ හමුදා ප්‍රධානියාගේ මාර්ගයෙන් ඉදිරිපත් කළ යුතු ය. :———.

(ආ) ඔබ සන්නද්ධ සේවාවක සේවය කර ඇත් ද ? එසේ නම් අස්වීමේ දී දෙන ලද සහතිකයේ ඡායා පිටපතක් අමුණන්න. :———.

17. (අ) ඔබ සන්නද්ධ ස්වේච්ඡා සේවයට අනුයුක්තව සිටින්නේ ද ? එසේ නම් අයදුම්පත හමුදා ප්‍රධානියාගේ මාර්ගයෙන් ඉදිරිපත් කළ යුතු ය. :———.

(ආ) ඔබ සන්නද්ධ ස්වේච්ඡා සේවයෙහි අනුයුක්තව සිටියේ ද ? එසේ නම් අස්වීමේ දී දෙන ලද සහතිකයේ ඡායා පිටපතක් අමුණන්න. :———.

18. ඔබ කිසියම් වරදක් සම්බන්ධයෙන් හෝ සැකපිට අත් අඩංගුවට ගෙන තිබේ ද ? එසේම යම් වරදක් සම්බන්ධයෙන් චෝදනා ලැබ හෝ උසාවියට කැඳවනු ලැබ හෝ දඬුවම් ලැබ හෝ ඇත් ද ? (එසේ නම් විස්තර සඳහන් කරන්න) :———.

19. ඔබගේ කිසියම් ඥාතියෙකු යම් වරදක් සම්බන්ධයෙන් හෝ සැකපිට අත් අඩංගුවට ගෙන තිබේ ද ? එසේම යම් වරදක් සම්බන්ධයෙන් චෝදනා ලැබ හෝ උසාවියකට කැඳවනු ලැබ හෝ දඬුවම් ලැබ ඇත්ද ? එසේ නම් විස්තර සඳහන් කරන්න :———.

ඉහත කරුණු මාගේ දැනීමේ හා විශ්වාසයේ හැටියට සත්‍ය හා නිවැරදි ඒවා බවට මින් සහතික කරමි. එසේම ඉහත දැක්වූ තොරතුරු වැරදි හා අසත්‍ය ඒවා බවට හෙළිවුවහොත් මා සේවයට පත්කර ගෙන ඇතත් ඕනෑම අවස්ථාවක දී ශ්‍රී ලංකා පොලීසියේ සේවය වහාම නතර කිරීමට යටත් වන බව දනිමි.

———.
අයදුම්කාරියගේ අත්සන.

දිනය :———.

20. දෙපාර්තමේන්තු ප්‍රධානියාගේ සහතිකය : (අදාළ නම් පමණි)

මෙම අයදුම්පත ඉදිරිපත් කරන .......................... මයා/මිය/මෙනවිය ..................... දෙපාර්තමේන්තුවේ/ සංස්ථාවේ/ මණ්ඩලයේ සේවයේ නියුතු අයෙකු බවත් ඔහු/ඇය මෙම තනතුර සඳහා තෝරා ගනු ලැබුවහොත් සේවයෙන් මුදා හැරිය හැකි බවත් ප්‍රකාශ කරමි.

———,
දෙපාර්තමේන්තු ප්‍රධානියාගේ අත්සන
සහ තනතුර (රබර් මුද්‍රාව සහිත)

තනතුර :———.

දිනය :———.

01-706/2

---

# විභාග, විභාග ප්‍රතිඵල ආදිය

**ස්වදේශ කටයුතු අමාත්‍යාංශය**

ග්‍රාම නිලධාරී සේවයේ III ශ්‍රේණියේ නිලධාරීන් සඳහා වන පරිගණක හැකියාව විමසන ලිඛිත පරීක්ෂණය සහ කාර්යක්ෂමතා කඩඉම් විභාගය - 2018

1.0 ග්‍රාම නිලධාරී සේවයේ III ශ්‍රේණියේ නිලධාරීන් සඳහා අදාළ අනුමත බඳවා ගැනීමේ පටිපාටියෙහි විධිවිධානයන්ට අනුකූලව කාර්යක්ෂමතා කඩඉම් විභාගයක් සහ පරිගණක හැකියාව විමසන ලිඛිත පරීක්ෂණයක් ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව මගින් 2018 මැයි මාසයේ දී පවත්වනු ලබන බවත් ඒ සඳහා අයදුම්පත් කැඳවන බවත් මෙයින් නිවේදනය කරනු ලැබේ.

2.0 ග්‍රාම නිලධාරී සේවයේ III ශ්‍රේණියේ නිලධාරීන් සඳහා මෙම විභාගය කොළඹ, මහනුවර, ගාල්ල, මාතර, යාපනය, මන්නාරම, මුලතිව්, ත්‍රිකුණාමලය, මඩකලපුව, කුරුණෑගල, අනුරාධපුර, බදුල්ල, රත්නපුර හා කිලිනොච්චිය යන නගරවල දී පමණක් පැවැත්වේ. එම නගරවලට අදාළ නගර අංක පහත වගුවේ දැක්වේ. අයදුම් පත්‍රයේ අදාළ ශීර්ෂය මෙම නගර හා නගර අංක සඳහන් වගුව අනුව සම්පූර්ණ කළ යුතු වේ. ඉල්ලුම් කළ නගරය/ නගර පසුව වෙනස් කිරීමට ඉඩ දෙනු නොලැබේ. ඉහත සඳහන් යම්කිසි මධ්‍යස්ථානයක් සඳහා ප්‍රමාණවත් අපේක්ෂකයින් සංඛ්‍යාවක් නොමැති වුවහොත් එම මධ්‍යස්ථානය අවලංගු කර ඊට ආසන්න මධ්‍යස්ථානයක් වෙත අදාළ අයදුම්කරුවන් යොමු කෙරෙනු ඇත.

තව ද, යෝජිත නගර සියල්ලෙහිම හෝ වැඩි ගණනක හෝ විභාග මධ්‍යස්ථාන පිහිටුවීම සඳහා ප්‍රමාණවත් අයදුම්කරුවන්

සංඛ්‍යාවක් අයදුම් කොට නොමැති නම් විභාගය කොළඹ දී පමණක් පැවැත්වීමට විභාග කොමසාරිස් ජනරාල් විසින් කටයුතු කරනු ඇත.

| *නගරය* | *නගර අංකය* |
|---|---|
| කොළඹ | 01 |
| මහනුවර | 02 |
| ගාල්ල | 03 |
| මාතර | 04 |
| යාපනය | 05 |
| මන්නාරම | 06 |
| මුලතිව් | 07 |
| ත්‍රිකුණාමලය | 08 |
| මඩකලපුව | 09 |
| කුරුණෑගල | 10 |
| අනුරාධපුර | 11 |
| බදුල්ල | 12 |
| රත්නපුර | 13 |
| කිලිනොච්චි | 14 |

ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසය හා අයත් දිස්ත්‍රික්කය පිළිබඳ තොරතුරු 01 වැනි උපලේඛනයේ දක්වේ. අයදුම්කරුවන් තමා ඉල්ලුම් කරන ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසය හා එහි අංකයත්, දිස්ත්‍රික්කය හා එහි අංකයත් එම උපලේඛනයේ සඳහන් පරිදි නිවැරදිව අයදුම්පත්‍රයේ නියමිත ස්ථානයේ සඳහන් කළ යුතු ය. එය පසු අවස්ථාවක වෙනස් කිරීමට ඉඩ දෙනු නොලැබේ. එම විස්තර වැරදි ලෙස සටහන් කිරීම හේතුවෙන් අයදුම්කරුවකුට සිදුවන කිසියම් අවාසියක් සම්බන්ධ කිසිදු ඉල්ලීමක් සලකා නොලබන අතර ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසය හා කොට්ඨාස අංකය සඳහන් කර නොමැති අයදුම්පත්‍ර ප්‍රතික්ෂේප කරනු ලැබේ.

3.0 (i) මෙම විභාගය විභාග කොමසාරිස් ජනරාල්, විසින් පවත්වනු ලබන අතර, විභාගය පැවැත්වීම සම්බන්ධයෙන් ඔහු විසින් නියම කරන ලද නීතිරීතිවලට විභාග අපේක්ෂකයින් යටත් වේ.

(ii) විභාග අපේක්ෂකයින් සඳහා පනවා ඇති නීති *ගැසට්* නිවේදනයේ වෙනම මුද්‍රණය කර ඇත. මෙම නීති උල්ලංඝනය කළහොත් විභාග කොමසාරිස් ජනරාල් විසින් පනවනු ලබන දඬුවමකට යටත් වීමට ඔවුනට සිදුවනවා ඇත.

4.0 *සුදුසුකම්* .- 2010.09.29 දින සිට ක්‍රියාත්මක ග්‍රාම නිලධාරි බඳවා ගැනීමේ පටිපාටිය අනුව ග්‍රාම නිලධාරි සේවයේ III ශ්‍රේණියට බඳවා ගන්නා ලද නිලධාරින් මෙම විභාගය සඳහා ඉදිරිපත් වීමට සුදුසුකම් ලබයි.

5.0 *විභාග පටිපාටිය* : අපේක්ෂකයන් පහත දැක්වෙන විෂයයන් ඇතුළත් ලිඛිත පරීක්ෂණයකට පෙනී සිටිය යුතුය.

| *විෂය* | *විෂය අංකය* | *ලකුණු* | *කාලය* |
|---|---|---|---|
| 1. කාර්යාල ක්‍රම හා ගිණුම් | 01 | 100 යි | පැය 02 යි |
| 2. විෂයානුබද්ධ වෘත්තීය දැනුම | 02 | 100 යි | පැය 02 යි |
| 3. පරිගණක පරීක්ෂණය | 03 | 100 යි | පැය 01 1/2 යි |

5.1 කාර්යාල ක්‍රම හා ගිණුම් (විෂය අංකය - 01)

*කාර්යාල ක්‍රම* :

ග්‍රාම නිලධාරි කාර්යාලයේ හා රජයේ කාර්යාලවල භාවිත වන කාර්යාල ක්‍රම පිළිබඳව මූලික දැනුම ප්‍රායෝගිකව භාවිත කිරීමේ හැකියාව පරීක්ෂා කිරීම හා රාජකාරි ලිපි ලේඛන මැනවින් අවබෝධ කොට ගෙන පැහැදිලි හා සංක්ෂිප්ත සටහන් මගින් තම අදහස් / නිරීක්ෂණ නිශ්චිත අන්දමින් ඉදිරිපත් කිරීමේ හැකියාව සහ විෂයානුබද්ධ කරුණු සම්බන්ධව වාර්තාවක් කෙටුම්පත් කිරීමේ හැකියාව ද පරීක්ෂා කෙරේ.

*ගිණුම්* :

ග්‍රාම නිලධාරි වෙත පැවරී ඇති රාජකාරිවලට අදාළ හා රජයේ කාර්යාලවල භාවිත වන මූලික ගිණුම් හා ගිණුම් ක්‍රම ද, මුදල් පාලන පොත්වල කාර්යයන්, ප්‍රසම්පාදන පිළිබඳව ද අවබෝධය හා දැනුම මැනීම අපේක්ෂා කෙරේ.

I වන කොටස - කෙටි පිළිතුරු අපේක්ෂා කරන ප්‍රශ්නවලින් යුක්තය. ප්‍රශ්න පත්‍රයේම පිළිතුරු සැපයිය යුතුය. සියලුම ප්‍රශ්නවලට පිළිතුරු සැපයිය යුතුය. (ලකුණු 25යි)

II වන කොටස - ප්‍රශ්න තුනකින් සමන්විත ව්‍යුහගත රචනාමය ප්‍රශ්න පත්‍රයකි. ප්‍රශ්න තුනටම පිළිතුරු සැපයිය යුතුය. (ලකුණු 75යි)

5.2 විෂයානුබද්ධ වෘත්තීය දැනුම ( විෂය අංකය - 02)

ග්‍රාම නිලධාරින්ට අදාළ විවිධ අණපනත් හා අමාත්‍යාංශ, දෙපාර්තමේන්තු, පළාත් සභා හා වෙනත් රජයේ ව්‍යවස්ථාපිත ආයතන මගින් පැවරී ඇති රාජකාරි පිළිබඳ දැනුම පරීක්ෂා කෙරේ.

I වන කොටස - කෙටි පිළිතුරු අපේක්ෂා කරන ප්‍රශ්නවලින් යුක්තය. ප්‍රශ්න පත්‍රයේම පිළිතුරු සැපයිය යුතුය. සියලුම ප්‍රශ්නවලට පිළිතුරු සැපයිය යුතුය. (ලකුණු 25යි)

II වන කොටස - ප්‍රශ්න තුනකින් සමන්විත ව්‍යුහගත රචනාමය ප්‍රශ්න පත්‍රයකි. ප්‍රශ්න තුනටම පිළිතුරු සැපයිය යුතුය. (ලකුණු 75යි)

5.3 පරිගණක පරීක්ෂණය (විෂය අංක - 03)

අයදුම්කරුට පහත සඳහන් හැකියාවන් තිබේදැයි පරීක්ෂා කිරීම මෙම පරීක්ෂණයේ අරමුණ වේ.

| | |
|---|---|
| | තොරතුරු තාක්ෂණය පිළිබඳ මූලික සංකල්ප,<br>මෙහෙයුම් පද්ධති,<br>ගොනු කළමනාකරණය. |
| වදන් සැකසුම : | මූලික කුසලතා, තිරයට හුරුවීම, පාඨ සංස්කරණය, පාඨ එකෝලි කිරීම, අකුරු වර්ග හා උප ලක්‍ෂණ, අනුඡේද, ඡේද, පේළි අතර පරතරය වෙනස් කිරීම, පිම් අනුයෝගය (Tab Settings), පාඨයක් සෙවීම හා ප්‍රතිෂ්ඨාපනය, අක්ෂර හා ව්‍යාකරණ දෝෂ, සමානාර්ථ පද,<br><br>තීරු යෙදීම, පිටුව සැකසීම,<br>ලේඛන මුද්‍රණය, වගු නිර්මාණය,<br>අනුපිළිවෙළට සැකසීම,<br>ගොනු කළමණාකරණය,<br>ලේඛනයක් ලිපිනයන් කිහිපයකට යැවීමට සැකසීම,<br>මැක්‍රෝ භාවිතය, |
| පැතුරුම් පත් : | මූලික කුසලතා,<br>ආකෘතිකරණය ( Formatting),<br>සංස්කරණය,<br>තීරු හා පරාස, නව ඇතුළත් කිරීම් හා ඉවත් කිරීම්,<br>දත්ත අනුපිළිවෙළට සැකසීම,<br>ප්‍රස්තාර සැකසීම,<br>මුද්‍රණය,<br>@ ශ්‍රිත (@ Functions)<br>මැක්‍රෝ භාවිතය, ගොනු කළමනාකරණය |
| දත්ත සමුදාය : | හැඳින්වීම, මූලික කුසලතා,<br>දත්ත සමුදාය නිර්මාණය හා භාවිතය,<br>ආකෘති,<br>සන්ධානගත ආකෘති, උත්පතන ආකෘති (popup forms)<br>විමසුම් (queries)<br>අනුපිළිවෙළට සැකසීම,<br>වාර්තා ලබා ගැනීම,<br>මැක්‍රෝ භාවිතය, |
| ඉදිරිපත් කිරීම්/චිත්‍ර සටහන් : | මූලික කුසලතා, සංස්කරණය,<br>ආකෘතිකරණය, සැලසුම් යෙදීම,<br>අනුරූප, පසුරු සිත්තම් හා ප්‍රස්තාර නිවේශනය,<br>කදා මාරුව හා සජීවකරණය, ඉදිරිපත් කිරීමේ මෙවලම් භාවිතය, ගුරු (Master) කදාව සැකසීම,<br>කදා මුද්‍රණය හා සටහන්, |
| අන්තර්ජාලය : | අන්තර්ජාලය හැඳින්වීම, විශ්ව විසිරි ජාලය,<br>මං සොයන ආකාරය,<br>ව්‍යවහාරික අන්තර්ජාලය |
| විද්‍යුත් තැපෑල : (E-Mail) | හැඳින්වීම, මූලික කුසලතා, විද්‍යුත් තැපෑල ලබා ගැනීම, විද්‍යුත් තැපෑල යැවීම හා ඊට ප්‍රතිචාර දැක්වීම.<br>ඇමුණුම් භාවිතය, ලිපිනය හඳුනා ගැනීමට කෙටි නාම භාවිතය, පණිවුඩ සම්පාදනය, |

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් දෙකකින් යුක්ත වේ.

I වැනි කොටස - බහුවරණ/ කෙටි පිළිතුරු ප්‍රශ්න 40 කින් යුක්ත වේ.
(ලකුණු 40 යි)

II වැනි කොටස - අර්ධ ව්‍යුහගත ප්‍රශ්න 05 කි.
(ලකුණු 60 යි)

I හා II යන කොටස් දෙකටම නියමිත කාලය පැය 1 1/2 කි.

***සටහන.***—2010.09.29 දිනැති ග්‍රාම නිලධාරි බඳවා ගැනීම් පටිපාටියේ ඇමුණුම් 02 හි 08 වැනි ඡේදයට අනුව ජාතික ආධුනිකත්ව හා කාර්මික පුහුණු කිරීමේ අධිකාරිය විසින් පිරිනමනු ලබන පරිගණක මෙහෙයුම් බලපත්‍රය හෝ පරිගණක මෙහෙයුම් බලපත්‍රයට සමාන හෝ ඊට ඉහළ ගුණාත්මක අගයක් ඇති තෘතීයික අධ්‍යාපන හා වෘත්තීය අධ්‍යාපන කොමිෂන් සභාව විසින් පිළිගනු ලබන ආයතනවලින් නිකුත් කරන ලද පරිගණක පිළිබඳ සහතිකපත්‍ර ලබා ඇති නිලධරයන් මෙම පරිගණක හැකියාව විමසන ලිඛිත පරීක්ෂණයෙන් නිදහස් කරනු ලැබේ. තව ද, ජාතික ආධුනිකත්ව හා කාර්මික පුහුණු කිරීමේ අධිකාරිය විසින් පිරිනමනු ලබන පරිගණක යෙදවුම් සහායක (NVQ මට්ටම 3) සහතිකය ලබා ඇති නිලධරයන් මෙම පරිගණක හැකියාව විමසන ලිඛිත පරීක්ෂණයෙන් නිදහස් කරනු ලැබේ.

6.0 සිංහල හා දෙමළ යන භාෂා මාධ්‍යවලින් පමණක් මෙම විභාගය පැවැත්වෙන අතර අදාළ සේවයට ඇතුළත් වීම සඳහා වූ විභාගයට පෙනී සිටි භාෂාවෙන් හෝ රාජ්‍ය භාෂාවකින් හෝ මෙම විභාගයට පෙනී සිටීමට නිලධාරින්ට පුළුවන. තරග විභාගයක් නොමැතිව සේවයට බැඳුණු නිලධාරීන්ට ද තමන් අධ්‍යාපනය ලැබූ භාෂා මාධ්‍යයෙන් හෝ රාජ්‍ය භාෂාවකින් හෝ මෙම විභාගයට පෙනී සිටිය හැකිය. විභාගය සඳහා ඉල්ලුම් කරන භාෂා මාධ්‍යය පසුව වෙනස් කිරීමට ඉඩ දෙනු නොලැබේ.

7.0 තමන් කැමති නම් එක් එක් විෂයය සඳහා වෙන් වෙන් වශයෙන් හා එකිනෙකට වෙනස් වූ වාරවල දී පෙනී සිටීමට නිලධාරින්ට හැකිවේ. එතෙකුදු වුවත් සාමාර්ථය සඳහා එක් එක් විෂයයට නියමිත මුළු ලකුණුවලින් අවම වශයෙන් සියයට හතලිහක් (40%) බැගින්වත් ලබාගත යුතු වේ. සියලු විෂයයන් සමත් වී විභාගය සම්පූර්ණ කරනු ලබන වර්ෂයේ විභාගය පවත්වන ලද අවසාන දිනය මෙම කාර්යක්ෂමතා කඩ ඉම සමත් වූ දිනය ලෙස සලකනු ලැබේ.

8.0 විභාග ප්‍රතිඵල විභාග කොමසාරිස් ජනරාල් විසින් මා වෙත නිකුත් කරන අතර, විභාගය සමත් වූ අපේක්ෂකයන්ගේ නම් දිස්ත්‍රික් ලේකම්වරු හා ප්‍රාදේශීය ලේකම්වරුන් මගින් අයදුම්කරුවන්ට දැන්වීමට කටයුතු කරනු ඇත.

9.0 අයදුම්පත්‍රය මෙම නිවේදනයට අමුණා ඇති ආදර්ශ ආකෘතියට අනුකූල විය යුතුය. එම ආදර්ශ අයදුම්පත්‍රය අනුව අපේක්ෂකයින් ස්වකීය අයදුම්පත්‍රය පිළියෙල කරගත යුතු අතර ඒ අනුව පිළියෙල කරන ලද අයදුම්පත්‍ර අපේක්ෂකයින් විසින් තම සේවා වසමට අදාළ ප්‍රාදේශීය ලේකම්වරයා මඟින් 2018 පෙබරවාරි මස 26 වැනි දින හෝ ඊට පෙර ලැබෙන සේ "විභාග කොමසාරිස් ජනරාල්, සංවිධාන හා විදේශ විභාග ශාඛාව, ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව, තැ. පෙ. 1503, කොළඹ" යන ලිපිනයට ලියාපදිංචි තැපෑලෙන් එවිය යුතුය. අයදුම්පත් විභාග කොමසාරිස් ජනරාල් වෙත ඉදිරිපත් කරන ලියුම් කවරයේ වම් පස ඉහළ කෙළවරේ විභාගයේ නම සඳහන් කළ යුතුය. අයදුම්පත් භාර ගැනීමේ අවසාන දිනට පසුව ලැබෙන අයදුම්පත් හා අදාළ තොරතුරු සම්පූර්ණ කර නැති අයදුම්පත් ප්‍රතික්ෂේප කෙරෙනු ඇත.

10.0 *අපේක්ෂකයින්ගේ අනන්‍යතාව.-* අපේක්ෂකයන් විභාග ශාලාව තුළ දී පෙනී සිටින සෑම විෂයයක් පාසාම විභාග ශාලාධිපති සෑහීමකට පත් වන පරිදි ස්වකීය අනන්‍යතාව ඔප්පු කළ යුතු ය. විභාග කොමසාරිස් ජනරාල් විසින් නිකුත් කරනු ලබන තම අත්සන සහතික කරවාගත් විභාග ප්‍රවේශ පත්‍රය සමඟ පහත සඳහන් ලියකියවිලිවලින් එකක් විභාග ශාලාධිපති වෙත ඉදිරිපත් කළ යුතු ය :-

I පුද්ගලයින් ලියාපදිංචි කිරීමේ දෙපාර්තමේන්තුව මගින් නිකුත් කරන ලද ජාතික හැඳුනුම්පත;

II වලංගු විදේශ ගමන් බලපත්‍රය.

ඉහත සඳහන් ලියවිල්ලක් ඉදිරිපත් කළ නොහැකි අයදුම්කරුවකුගේ අනන්‍යතාව විභාග කොමසාරිස් ජනරාල්ගේ අභිමතය පරිදි අවලංගු කළ හැකිය.

11.0 *අයදුම්පත්‍ර.*—ආදර්ශ අයදුම්පත්‍රයේ ශීර්ෂ අංක 1.0 සිට 4.0 දක්වා ඡේදයන් පළමුවන පිටුවට ද 5.0 සිට 7.0 දෙවන පිටුවට ද ඇතුළත් වන පරිදි "ඒ 4"ප්‍රමාණයේ කඩදාසියක දෙපැත්ත භාවිත කරමින් අයදුම්පත්‍රය පිළියෙළ කළ යුතු ය. අයදුම්පත්‍රය යතුරුලියනය කර පිළියෙළ කරගත හැකි වුව ද එය නිවැරදිව හා පැහැදිලිව අයදුම්කරුගේ අත් අකුරින්ම පිරවිය යුතුය. අයදුම්පත මේ සමඟ ඇති ආකෘතිය පරිදිම සකස් කර ගත යුතු අතර, එක් අයදුම්කරුවෙකු විසින් ඉදිරිපත් කළ යුත්තේ එක් අයදුම්පතක් පමණක් වන අතර අයදුම්පතේ ඡායා පිටපත් නොඑවන මෙන් දන්වා සිටිනු ලැබේ. ආදර්ශ අයදුම්පත්‍රයට අනුකූල නොවන සහ අසම්පූර්ණ ලෙස තොරතුරු සඳහන් කර ඇති අයදුම්පත් දැනුම් දීමකින් තොරව ප්‍රතික්ෂේප කරනු ලැබේ. විභාග අයදුම්පත්‍රයේ ශීර්ෂයේ සඳහන් විභාගයේ නම සිංහල අයදුම්පත්‍රවල සිංහලට අමතරව ඉංග්‍රීසියෙන් ද, දෙමළ අයදුම්පත්‍රවල දෙමළට අමතරව ඉංග්‍රීසියෙන් ද සඳහන් කරන්න. තව ද, සම්පූර්ණ කරනු ලබන අයදුම්පත්‍රය විභාග නිවේදනයේ සඳහන් ආදර්ශ අයදුම්පත්‍රයට අනුකූල ද යන්න පිළිබඳව අයදුම්කරු විසින් විමසා බැලිය යුතු අතර එම අයදුම්පත්‍රයේ ඡායා පිටපතක් ළඟ තබා ගැනීම ප්‍රයෝජනවත් වනු ඇත.

12.0 පළමුවන වරට මෙම විභාගයට පෙනී සිටින නිලධාරීන් විසින් කිසිදු විභාග ගාස්තුවක් ගෙවිය යුතු නොවේ. එසේකුදු වුවත් ඉන්පසු වාරවල දී නිලධාරීන් විසින් එක්වර සම්පූර්ණ විභාගයට හෝ විෂයයන් දෙකක් සඳහා පෙනී සිටින්නේ නම් විභාග ගාස්තුව රු. 500/- ක් ද, එක් විෂයයක් සඳහා පෙනී සිටින්නේ නම් විභාග ගාස්තුව රු. 250/- ක් ද වේ. මෙම විභාග ගාස්තුව විභාග කොමසාරිස් ජනරාල්ගේ ආදායම් ශීර්ෂ 2003-02-13 ට බැරවන ලෙස දිවයිනේ පිහිටි ඕනෑම තැපැල්/උපතැපැල් කාර්යාලයකට අයදුම්කරුගේ නමින්ම ගෙවා ලබා ගන්නා ලදුපත අයදුම් පත්‍රයේ නියමිත ස්ථානයේ ඇලවිය යුතුය. තව ද එහි ඡායා පිටපතක් ළඟ තබා ගැනීම ප්‍රයෝජනවත් වනු ඇත. කවර කරුණක් යටතේ වුව ද මෙම ගාස්තුව ආපසු ගෙවනු නොලැබේ. මෙම විභාගය සඳහා ගෙවනු ලබන ගාස්තුව වෙනත් කිසිදු විභාගයකට මාරු කිරීමට ඉඩ දෙනු නොලැබේ. තවද විභාග ගාස්තුව සඳහා මුද්දර හෝ මුදල් ඇණවුම් භාරගනු නොලැබේ.

13.0 *ගැසට්* නිවේදනයේ සඳහන් සුදුසුකම් ඇති අය පමණක් ඉල්ලුම් කර ඇතැයි යන පූර්ව නිගමනය මත අයදුම්පත් ඉදිරිපත් කර ඇති නිලධාරීන් වෙත විභාග කොමසාරිස් ජනරාල් විසින් විභාග කාල සටහනේ පිටපතක් සමඟ ප්‍රවේශ පත්‍ර නිකුත් කරනවා ඇත. අපේක්ෂකයෙකුට විභාග ප්‍රවේශ පත්‍රයක් නිකුත් කිරීම ඔහු/ඇය විභාගයට ඉදිරිපත් වීමට සුදුසුකම් සපුරා ඇති බවට පිළිගැනීමක් ලෙස නොසැලකිය යුතුය. විභාගයට පෙනී සිටින නිලධාරීන් විසින් විභාග ශාලාධිපති වෙත ඔවුන්ගේ අත්සන සහතික කරවාගත් ප්‍රවේශ පත්‍ර ඉදිරිපත් කළ යුතුය. එවැනි ප්‍රවේශ පත්‍ර නොමැතිව විභාගයට පෙනී සිටීමට ඉඩදෙනු නොලැබේ. අයදුම්කරුවන් වෙත ප්‍රවේශ පත්‍ර නිකුත් කළ වහාම ඒ බව සඟහන් කරමින් පුවත්පත් නිවේදනයක් විභාග කොමසාරිස් ජනරාල් විසින් පළ කරනු ඇත. නිවේදනය පළවී දින දෙකක් හෝ තුනක් ගතවූ පසුවත් තම ප්‍රවේශ පත්‍රය නොලද අපේක්ෂකයෙක් වේ නම් දන්වීමේ සඳහන් පරිදි ඒ පිළිබඳව ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුවේ සංවිධාන හා විදේශ විභාග ශාඛාවෙන් විමසිය යුතුය. එසේ විමසීමේදී අයදුම්කරු තමා ඉල්ලුම් කරන ලද විභාගයේ නම, අයදුම්කරුගේ සම්පූර්ණ නම, ජාතික හැඳුනුම්පත් අංකය හා ලිපිනය නිවැරදිව සඳහන් කළ යුතුය. අයදුම්කරු කොළඹින් බැහැර පදිංචිකරුවෙකු නම්, එම විස්තර සමග, ෆැක්ස් මඟින් විභාග ප්‍රවේශ පත්‍රයේ පිටපතක් කඩිනමින් ලබා ගැනීමට හැකි අයදුම්කරුගේ ෆැක්ස් අංකයක්ද සඳහන් කරමින් ඉල්ලීම් ලිපියක් දන්වීමේ සඳහන් ෆැක්ස් අංකය වෙත යොමු කරමින්ම විමසා සිටීම වඩාත් ඵලදායී වනු ඇත. එසේ විමසීමේදී විභාග දෙපාර්තමේන්තුව විසින් විමසා සිටින කිසියම් තොරතුරක් සනාථ කිරීම සඳහා තමා ලඟ තබාගත් අයදුම්පත්‍රයේ පිටපත, විභාග ගාස්තු ගෙවීම අදළ නම් ඊට අදළ ලදුපතේ පිටපත

හා අයදුම්පත්‍රය තැපැල් කිරීමේදී ලියාපදිංචි කළ කුවිතාන්සිය සුදනමින් තබාගැනීමද ප්‍රයෝජනවත් වනු ඇත.

13.1 විභාග ප්‍රවේශ පත්‍රයේ අයදුම්කරුගේ අත්සන ආයතන ප්‍රධානියා හෝ ඔහු විසින් බලය පවරන ලද නිලධාරියෙකු ලවා සහතික කර තිබිය යුතුය. අපේක්ෂකයෙකු තමාට නියම කර ඇති විභාග ශාලාවේදී නියමිත විභාග අංකය යටතේ විභාගයට පෙනී සිටිය යුතුය.

14.0 විභාග කොමසාරිස් ජනරාල් විසින් නිකුත් කරන ලද ප්‍රවේශ පත්‍ර ඇති නිලධාරීන්ට විභාගයට පෙනී සිටීට හැකිවන පරිදි දෙපාර්තමේන්තු ප්‍රධානීන් විසින් රාජකාරී නිවාඩු ලබාදිය යුතුය. ගමන් ගාස්තු ගෙවනු නොලැබේ.

15.0 විභාගය පැවැත්වීම සම්බන්ධයෙන් විභාග කොමසාරිස් ජනරාල් විසින් පනවනු ලබන නීතිරීතිවලට විභාග අපේක්ෂකයින් යටත් වේ. එම නීතිරීති උල්ලංඝනය කළහොත් විභාග කොමසාරිස් ජනරාල් විසින් පනවනු ලබන දඬුවමකට යටත් වීමට ඔහුට හෝ ඇයට සිදුවන අතර, මෙම විභාග නිවේදනය මගින් විධිවිධාන සලසා නොමැති මෙම විෂයට අදාළ කවර කරුණක් පිළිබඳ වුව ද මාගේ තීරණය අවසාන තීරණය වන්නේය.

16.0 සිංහල, දෙමළ හා ඉංග්‍රීසි මාධ්‍යයන්ගෙන් පළවන මෙම නිවේදනයේ භාෂා පාඨ අතර කිසියම් නොගැළපීමක් හෝ අනනුකූලතාවක් ඇති බව පෙනී යන්නේ නම් එවැනි අවස්ථාවක සිංහල මාධ්‍ය නිවේදනයට අනුව කටයුතු කරනු ලැබේ.

නීල් ද අල්විස්,<br>
ලේකම්,<br>
ස්වදේශ කටයුතු අමාත්‍යාංශය.

2018 ජනවාරි මස 12 වැනි දින,<br>
ස්වදේශ කටයුතු අමාත්‍යාංශය,<br>
නිදහස් චතුරශ්‍රය,<br>
කොළඹ 07.

ආදර්ශ අයදුම්පත්‍රය

(කාර්යාලයීය ප්‍රයෝජනය සඳහා පමණයි)

*ග්‍රාම නිලධාරි සේවයේ III වැනි ශ්‍රේණියේ නිලධාරීන් සඳහා වන පරිගණක හැකියාව විමසන ලිඛිත පරීක්ෂණය සහ කාර්යක්ෂමතා කඩඉම් විභාගය - 2018*

**EFFICIENCY BAR EXAMINATION AND A WRITTEN TEST IN COMPUTER SKILLS FOR THE OFFICERS IN CLASS III OF GRAMA NILADHARI SERVICE - 2018**

විභාගයට පෙනී සිටින භාෂා මාධ්‍ය :<br>
සිංහල - 2<br>
දෙමළ - 3<br>
(අදාළ අංකය කොටුව තුළ ලියන්න)

(මෙය පසුව වෙනස් කිරීමට ඉඩ දෙනු නොලැබේ.)

| | විභාගයට ඉල්ලුම් කරන නගරය | නගර අංකය |
|---|---|---|
| පළමු තේරීම | | |
| දෙවන තේරීම | | |

(*ගැසට්* නිවේදනයේ 2.0 ඡේදයට අනුව විභාගයට පෙනී සිටීමට අපේක්ෂා කරන නගර කැමැත්ත අනුව අනුපිළිවෙලින් දක්වන්න.)<br>
(මෙය පසුව වෙනස් කිරීමට ඉඩ දෙනු නොලැබේ.)

1.0 1.1 සම්පූර්ණ නම :————.<br>
(ඉංග්‍රීසි කැපිටල් අකුරෙන්) : උදා :- HERATH MUDIYANSELAGE SAMAN KUMARA GUNAWARDHANA

1.2 අගට යෙදෙන නම මුලින් ද අනෙකුත් නම්වල මුලකුරු පසුව ද යොදු නම: (ඉංග්‍රීසි කැපිටල් අකුරෙන්):————.<br>
(උදා. : GUNAWARDHANA, H. M. S. K.) :————.

1.3 සම්පූර්ණ නම (සිංහලෙන්/ දෙමළෙන්) :————.

2.0 2.1 විභාග ප්‍රවේශ පත්‍රය එවිය යුතු ලිපිනය :————.<br>
(ඉංග්‍රීසි කැපිටල් අකුරෙන්)

2.2 සේවය කරනු ලබන දිස්ත්‍රික්කය සහ දිස්ත්‍රික්ක අංකය :
(උපලේඛනය I අනුව යොදන්න.) (ඉංග්‍රීසි කැපිටල් අකුරෙන්)

2.3 සේවය කරනු ලබන ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසය සහ ප්‍රාදේශීය ලේකම් කොට්ඨාස අංකය :
(උපලේඛනය I අනුව යොදන්න.) (ඉංග්‍රීසි කැපිටල් අකුරෙන්)

2.4 සේවය කරනු ලබන දිස්ත්‍රික්කය සහ ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසය (සිංහලෙන්/දෙමළෙන්) :————.

3.0 3.1 ජාතික හැඳුනුම්පත් අංකය :

3.2 ස්ත්‍රී/ පුරුෂභාවය :

ස්ත්‍රී - 1
පුරුෂ - 0
(අදාළ අංකය කොටුව තුළ ලියන්න.)

3.3 උපන් දිනය :

වර්ෂය : මාසය : දිනය :

4.0 ඔබ මෙවර විභාගයේ දී ඉදිරිපත් වන විෂයය/ විෂයයන් (*ගැසට්* නිවේදනයේ 05 වැනි ඡේදය බලන්න)

| *අනු. අංකය* | *විෂයය* | *විෂය අංකය* |
|---|---|---|
| 01 | | |
| 02 | | |
| 03 | | |

5.0 5.1 අයත් වන ශ්‍රේණිය :————.
5.2 තනතුර :————.
5.3 අදාළ ශ්‍රේණියට පත්වීම ලද දිනය :————

5.3 දුරකථන අංකය :

6.0 *සැළකිය යුතුයි :- ගැසට් පත්‍රයේ* දැක්වෙන පරිදි විභාග ගාස්තු සඳහා නියමිත මුදල් ගෙවූ බවට තැපැල්/උපතැපැල් කාර්යාලයෙන් අයදුම්කරුගේ නමින්ම ලබා ගත් කුවිතාන්සිය මෙහි නොගැලවෙන සේ ඇලවිය යුතු ය.

කුවිතාන්සි අංකය :————.
තැපැල්/උපතැපැල් කාර්යාලය :————.
දිනය :————.
මුදල රුපියල් :————.

7.0 ඉහත සඳහන් විස්තර නිවැරදි බවත්, ඉහතින් දක්වා ඇති භාෂා මාධ්‍යයෙන් විභාගයට පෙනී සිටීමට මට හිමිකම් ඇති බවත් ප්‍රකාශ කරමි.

තව ද විභාගය පැවැත්වීම හා ප්‍රතිඵල නිකුත් කිරීම සම්බන්ධයෙන් විභාග කොමසාරිස් ජනරාල් විසින් පනවනු ලබන නීතිරීතිවලට මම යටත් වන බව ද ප්‍රකාශ කරමි. එසේම එම විභාගය සඳහා පළමුවරට ඉදිරිපත් වන බව ද/ විභාගයට නියමිත විභාග ගාස්තුව ගෙවා ලදුපත අලවා ඇති බව ද සහතික කරමි.

————,
අපේක්ෂකයාගේ/ අපේක්ෂිකාවගේ අත්සන.

දිනය :————.

**ප්‍රාදේශීය ලේකම්ගේ සහතිකය**

………… ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ ………… ග්‍රාම නිලධාරි වසමේ සේවයේ නියුතු ග්‍රාම නිලධාරි/ ග්‍රාම නිලධාරිනි, …………………… මහතා/ මහත්මිය/ මෙනෙවිය විසින්,

(i) මා ඉදිරියේ දී අත්සන් කළ බවත්,
(ii) ඉහත සපයා ඇති විස්තර පරීක්ෂා කර බැලූ බවත්,
(iii) නිලධාරියා/ නිලධාරිනිය මෙම විභාගයට පෙනී සිටීමට සුදුසු බවත්,
(iv) පළමුවන වරට විභාගයට පෙනී සිටින බැවින් විභාග ගාස්තුවෙන් නිදහස් බවත්/ නියමිත විභාග ගාස්තුව ගෙවන ලද ලදුපත අලවා ඇති බවත්, මම සහතික කරමි.

(නොගැලපෙන වචන කපා හරින්න.)

―――――,
ප්‍රාදේශීය ලේකම්ගේ අත්සන
සහ නිලමුද්‍රාව.

නම :―――――.
පදවි නාමය :―――――.
ලිපිනය :―――――.
දිනය :―――――.

උපලේඛනය I

| ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසය | ප්‍රාදේශීය ලේකම් කොට්ඨාස අංකය | අයත් දිස්ත්‍රික්කය හා අංකය |
|---|---|---|
| කොළඹ | 1103 | කොළඹ 01 |
| කොලොන්නාව | 1106 | |
| කඩුවෙල | 1109 | |
| හෝමාගම | 1112 | |
| හංවැල්ල | 1115 | |
| පාදුක්ක | 1118 | |
| මහරගම | 1121 | |
| ශ්‍රී ජයවර්ධනපුර කෝට්ටේ | 1124 | |
| තිඹිරිගස්යාය | 1127 | |
| දෙහිවල | 1130 | |
| රත්මලාන | 1131 | |
| මොරටුව | 1133 | |
| කැස්බෑව | 1136 | |
| මීගමුව | 1203 | ගම්පහ 02 |
| කටාන | 1206 | |
| දිවුලපිටිය | 1209 | |
| මීරිගම | 1212 | |
| මිනුවන්ගොඩ | 1215 | |
| වත්තල | 1218 | |
| ජාඇල | 1221 | |
| ගම්පහ | 1224 | |
| අත්තනගල්ල | 1227 | |
| දොම්පෙ | 1230 | |
| මහර | 1233 | |
| කැළණිය | 1236 | |
| බියගම | 1239 | |
| පානදුර | 1303 | කළුතර 03 |
| බණ්ඩාරගම | 1306 | |
| හොරණ | 1309 | |
| ඉංගිරිය | 1310 | |
| බුලත්සිංහල | 1312 | |
| මදුරාවල | 1315 | |
| මිල්ලනිය | 1318 | |
| කළුතර | 1321 | |
| බේරුවල | 1324 | |
| දොඩන්ගොඩ | 1327 | |
| මතුගම | 1330 | |
| අගලවත්ත | 1333 | |
| පාලින්දනුවර | 1336 | |
| වලල්ලාවිට | 1339 | |
| තුම්පනේ | 2103 | මහනුවර 04 |
| පූජාපිටිය | 2106 | |
| අකුරණ | 2109 | |
| පාතදුම්බර | 2112 | |
| පන්විල | 2115 | |
| උඩුදුම්බර | 2118 | |
| මිනිපේ | 2121 | |
| මැදදුම්බර | 2124 | |
| කුණ්ඩසාලේ | 2127 | |
| ගඟවට කෝරළේ | 2130 | |
| හාරිස්පත්තුව | 2133 | |
| හතරලියද්ද | 2134 | |
| යටිනුවර | 2136 | |
| උඩුනුවර | 2139 | |
| දොළුව | 2142 | |
| පාතහේවාහැට | 2145 | |
| දෙල්තොට | 2148 | |
| උඩපළාත | 2151 | |
| ගඟඉහලකෝරළේ | 2154 | |
| පස්බාගේ කෝරළේ | 2157 | |

| ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසය | ප්‍රාදේශීය ලේකම් කොට්ඨාස අංකය | අයත් දිස්ත්‍රික්කය හා අංකය |
|---|---|---|
| ගලේවෙල | 2203 | |
| දඹුල්ල | 2206 | |
| නාඋල | 2209 | |
| පල්ලෙපොල | 2212 | මාතලේ |
| යටවත්ත | 2215 | |
| මාතලේ | 2218 | 05 |
| අඹන්ගඟ කෝරළේ | 2221 | |
| ලග්ගල පල්ලේගම | 2224 | |
| විල්ගමුව | 2227 | |
| රත්තොට | 2230 | |
| උකුවෙල | 2233 | |
| කොත්මලේ | 2303 | |
| හඟුරන්කෙත | 2306 | නුවරඑළිය |
| වලපනේ | 2309 | |
| නුවරඑළිය | 2312 | 06 |
| අඹගමුව | 2315 | |
| බෙන්තොට | 3103 | |
| බලපිටිය | 3106 | |
| කරන්දෙනිය | 3109 | |
| ඇල්පිටිය | 3112 | |
| නියාගම | 3115 | |
| තවලම | 3118 | |
| නෙළුව | 3121 | |
| නාගොඩ | 3124 | |
| බද්දේගම | 3127 | ගාල්ල |
| වැලිවිටිය දිවිතුර | 3130 | |
| අම්බලන්ගොඩ | 3133 | 07 |
| හික්කඩුව | 3136 | |
| කඩවත්සතර | 3139 | |
| බෝපෙ පෝද්දල | 3142 | |
| අක්මීමන | 3145 | |
| යක්කලමුල්ල | 3148 | |
| ඉමදූව | 3151 | |
| ගෝනපීනුවල | 3154 | |
| හබරාදූව | 3157 | |
| පිටබැද්දර | 3203 | |
| කොටපොල | 3206 | |
| පස්ගොඩ | 3209 | |
| මුලටියන | 3212 | |
| අතුරලිය | 3215 | මාතර |
| අකුරැස්ස | 3218 | |
| වැලිපිටිය | 3221 | |
| මාලිම්බඩ | 3224 | 08 |
| කඹුරුපිටිය | 3227 | |
| හක්මන | 3230 | |
| කිරින්ද පුහුලුවැල්ල | 3233 | |
| තිහගොඩ | 3236 | |
| වැලිගම | 3239 | |
| මාතර | 3242 | |
| දෙවිනුවර | 3245 | |
| දික්වැල්ල | 3248 | |
| සූරියවැව | 3303 | |
| ලුණුගම්වෙහෙර | 3306 | |
| තිස්සමහාරාමය | 3309 | |
| හම්බන්තොට | 3312 | |
| අම්බලන්තොට | 3315 | හම්බන්තොට |
| අඟුණකොළපැලැස්ස | 3318 | |
| වීරකැටිය | 3321 | 09 |
| කටුවන | 3324 | |
| ඕකේවෙල | 3327 | |
| බෙලිඅත්ත | 3330 | |
| තංගල්ල | 3333 | |
| වලස්මුල්ල | 3336 | |
| කයිට්ස් | 4103 | |
| චානක්කනි | 4106 | |
| සන්දිලිපායි | 4109 | |
| තෙලිප්පායි | 4112 | |
| උඩුවිල් | 4115 | |
| කෝපායි | 4118 | යාපනය |
| කරවෙඩ්ඩි | 4121 | |
| මුරුතන්කර්නි | 4124 | |
| පොයින්ට් පේද්රු | 4127 | 10 |
| චාවාකච්චේරි | 4130 | |
| නල්ලූර් | 4133 | |
| යාපනය | 4136 | |
| වෙලනායි | 4139 | |
| ඩෙල්ෆ් | 4142 | |
| කරෙයිනගර් | 4145 | |
| මන්නාරම | 4203 | |
| මාන්තායි බටහිර | 4206 | මන්නාරම |
| මඩු | 4209 | |
| නානද්දාන් | 4212 | 11 |
| මුසාලි | 4215 | |
| වවුනියා උතුර | 4303 | |
| වවුනියා දකුණ | 4306 | වවුනියා |
| වවුනියා | 4309 | |
| වෙන්ගලචෙඩ්ඩිකුලම් | 4312 | 12 |
| තුනුක්කායි | 4403 | |
| මාන්තායි නැගෙනහිර | 4406 | |
| පුදුකුඩිඉරුප්පු | 4409 | මුලතිව් |
| ඔඩ්ඩුසුඩාන් | 4412 | |
| මැරිටයිම්පත්තු | 4415 | 13 |
| වැලිඔය | 4418 | |
| පච්චිලෙයිපල්ලි | 4503 | කිලිනොච්චිය |
| කඳවලෙයි | 4506 | |
| කරච්චි | 4509 | 14 |
| පූනාකරි | 4512 | |
| කෝරළේපත්තු උතුර | 5103 | |
| කෝරළේපත්තු බටහිර | 5106 | |
| කෝරළේපත්තු | 5109 | මඩකලපුව |
| එරාවූර්පත්තු | 5112 | |
| එරාවූර් නගරය | 5115 | 15 |
| මන්මුනේ උතුර | 5118 | |
| මන්මුනේ බටහිර | 5121 | |
| කාත්තන්කුඩි | 5124 | |
| මන්මුනේපත්තු | 5127 | |
| මන්මුනේ නිරිත | 5130 | |

| ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසය | ප්‍රාදේශීය ලේකම් කොට්ඨාස අංකය | අයත් දිස්ත්‍රික්කය හා අංකය |
|---|---|---|
| පෝර්තිව්පත්තු | 5133 | මඩකලපුව |
| මන්මුනේ දකුණ | 5136 | |
| කෝරලේපත්තු දකුණ | 5139 | 15 |
| කෝරලේපත්තු මධ්‍යම | 5142 | |
| දෙහිඅත්තකණ්ඩිය | 5203 | |
| පදියතලාව | 5206 | |
| මහඔය | 5209 | |
| උහන | 5212 | අම්පාර |
| අම්පාර | 5215 | |
| නාවින්දවේලි | 5216 | |
| සමන්තුරෙයි | 5218 | 16 |
| කල්මුණේ දමිල | 5224 | |
| සයින්ද මුරුදු | 5225 | |
| කාර්තිවු | 5227 | |
| නින්දවූර් | 5230 | |
| අඩ්ඩාලච්චේන | 5233 | |
| ඉරක්කාමම් | 5234 | |
| අක්කරපත්තුව | 5236 | |
| අලයඩිවෙම්බු | 5239 | |
| දමන | 5242 | |
| තිරුක්කෝවිල් | 5245 | |
| පොතුවිල් | 5248 | |
| ලාහුගල | 5251 | |
| කල්මුණේ මුස්ලිම් | 5254 | |
| පදවි ශ්‍රී පුර | 5303 | |
| කුච්චවේලි | 5306 | |
| ගෝමරන්කඩවල | 5309 | |
| මොරවැව | 5312 | ත්‍රිකුණාමලය |
| නගර හා කඩවත් | 5315 | |
| තඹලගමුව | 5318 | |
| කන්තලේ | 5321 | 17 |
| කින්නියා | 5324 | |
| මුතූර් | 5327 | |
| සේරුවිල | 5330 | |
| වෙරුගල්/ඉච්චලම්පත්තු | 5333 | |
| ගිරිබාව | 6103 | |
| ගල්ගමුව | 6106 | |
| ඇහැටුවැව | 6109 | |
| අඹන්පොල | 6112 | |
| කොටවෙහෙර | 6115 | |
| රස්නායකපුර | 6118 | |
| නිකවැරටිය | 6121 | |
| මහව | 6124 | |
| පොල්පිතිගම | 6127 | |
| ඉබ්බාගමුව | 6130 | |
| ගනේවත්ත | 6133 | කුරුණෑගල |
| වාරියපොල | 6136 | |
| කොබෙයිගනේ | 6139 | |
| බිංගිරිය | 6142 | 18 |
| බමුණාකොටුව | 6149 | |
| මාස්පොත | 6151 | |
| කුරුණෑගල | 6154 | |
| මල්ලවපිටිය | 6157 | |
| මාවතගම | 6160 | |
| රිදීගම | 6163 | |
| වීරඹුගෙදර | 6166 | |
| කුලියාපිටිය නැගෙනහිර | 6169 | |
| කුලියාපිටිය බටහිර | 6172 | |

| ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසය | ප්‍රාදේශීය ලේකම් කොට්ඨාස අංකය | අයත් දිස්ත්‍රික්කය හා අංකය |
|---|---|---|
| උඩුබද්දාව | 6175 | |
| පන්නල | 6178 | |
| නාරම්මල | 6181 | කුරුණෑගල |
| අලව්ව | 6184 | |
| පොල්ගහවෙල | 6187 | 18 |
| පඩුවස්නුවර නැගෙනහිර | 6190 | |
| පඩුවස්නුවර බටහිර | 6193 | |
| කල්පිටිය | 6203 | |
| වනාතවිල්ලුව | 6206 | |
| කරුවලගස්වැව | 6209 | |
| නවගත්තේගම | 6212 | |
| පුත්තලම | 6215 | |
| මුන්දලම | 6218 | පුත්තලම |
| මහකුඹුක්කඩවල | 6221 | |
| ආණමඩුව | 6224 | 19 |
| පල්ලම | 6227 | |
| ආරච්චිකට්ටුව | 6230 | |
| හලාවත | 6233 | |
| මාදම්පෙ | 6236 | |
| මහවැව | 6239 | |
| නාත්තන්ඩිය | 6242 | |
| වෙන්නප්පුව | 6245 | |
| දංකොටුව | 6248 | |
| පදවිය | 7103 | |
| කැබිතිගොල්ලෑව | 7106 | |
| මැදවච්චිය | 7109 | |
| මහවිලච්චිය | 7112 | |
| මධ්‍යම නුවරගම්පළාත | 7115 | |
| රඹෑව | 7118 | |
| කහටගස්දිගිලිය | 7121 | |
| හොරොව්පතාන | 7124 | |
| ගලෙන්බිඳුනුවැව | 7127 | |
| මිහින්තලේ | 7130 | |
| නැගෙනහිර නුවරගම්පළාත | 7133 | |
| නච්චදූව | 7136 | අනුරාධපුරය |
| නොච්චියාගම | 7139 | |
| රාජාංගනය | 7142 | 20 |
| තඹුත්තේගම | 7145 | |
| තලාව | 7148 | |
| තිරප්පනේ | 7151 | |
| කැකිරාව | 7154 | |
| පළුගස්වැව | 7157 | |
| ඉපලෝගම | 7160 | |
| ගල්නෑව | 7163 | |
| පලාගල | 7166 | |
| හිඟුරක්ගොඩ | 7203 | |
| මැදිරිගිරිය | 7206 | |
| ලංකාපුර | 7209 | පොළොන්නරුව |
| වැලිකන්ද | 7210 | |
| දිඹුලාගල | 7212 | |
| තමන්කඩුව | 7215 | 21 |
| ඇලහැර | 7218 | |
| මහියංගනය | 8103 | බදුල්ල |
| රිදීමාලියද්ද | 8106 | |
| මීගහකිවුල | 8109 | 22 |

| ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසය | ප්‍රාදේශීය ලේකම් කොට්ඨාස අංකය | අයත් දිස්ත්‍රික්කය හා අංකය |
|---|---|---|
| කන්දෙකැටිය | 8112 | බදුල්ල 22 |
| සොරණාතොට | 8115 | |
| පස්සර | 8118 | |
| ලුණුගල | 8119 | |
| බදුල්ල | 8121 | |
| හාලිඇල | 8124 | |
| ඌව පරණගම | 8127 | |
| වැලිමඩ | 8130 | |
| බණ්ඩාරවෙල | 8133 | |
| ඇල්ල | 8136 | |
| හපුතලේ | 8139 | |
| හල්දුම්මල | 8142 | |
| බිබිල | 8203 | මොණරාගල 23 |
| මඩුල්ල | 8206 | |
| මැදගම | 8209 | |
| සියඹලාණ්ඩුව | 8212 | |
| මොණරාගල | 8215 | |
| බඩල්කුඹුර | 8218 | |
| බුත්තල | 8221 | |
| වැල්ලවාය | 8224 | |
| කතරගම | 8227 | |
| තණමල්විල | 8230 | |
| සෙවනගල | 8233 | |
| ඇහැලියගොඩ | 9103 | රත්නපුර 24 |
| කුරුවිට | 9106 | |
| කිරිඇල්ල | 9109 | |
| රත්නපුර | 9112 | රත්නපුර 24 |
| ඉඹුල්පෙ | 9115 | |
| බලංගොඩ | 9118 | |
| ඕපනායක | 9121 | |
| පැල්මඩුල්ල | 9124 | |
| ඇලපාත | 9127 | |
| අයගම | 9130 | |
| කලවාන | 9133 | |
| නිවිතිගල | 9136 | |
| කහවත්ත | 9139 | |
| ගොඩකවෙල | 9142 | |
| වැලිගෙපොල | 9145 | |
| ඇඹිලිපිටිය | 9148 | |
| කොලොන්න | 9151 | |
| රඹුක්කන | 9203 | කෑගල්ල 25 |
| මාවනැල්ල | 9206 | |
| අරණායක | 9209 | |
| කෑගල්ල | 9212 | |
| ගලිගමුව | 9215 | |
| වරකාපොල | 9218 | |
| රුවන්වැල්ල | 9221 | |
| බුලත්කොහුපිටිය | 9224 | |
| යටියන්තොට | 9227 | |
| දෙහිඕවිට | 9230 | |
| දැරණියගල | 9233 | |

01-794

---

## සංස්කෘතික කටයුතු දෙපාර්තමේන්තුව

### රාජ්‍ය ළමා චිත්‍ර උළෙල - 2018

අභ්‍යන්තර කටයුතු, වයඹ සංවර්ධන හා සංස්කෘතික කටයුතු අමාත්‍යාංශය, සංස්කෘතික කටයුතු දෙපාර්තමේන්තුව සහ රාජ්‍ය දෘශ්‍ය කලා උපදේශක මණ්ඩලය මගින් සංවිධානය කරනු ලබන "2018-රාජ්‍ය ළමා චිත්‍ර උළෙල" සඳහා නිර්මාණ භාරගැනීම 2018 ජනවාරි මස 20 වැනි දින සිට මාර්තු මස 16 වැනි දින දක්වා කොළඹ 07 ජාතික කලාභවනේදී සිදුකෙරේ. එසේ ලැබෙන චිත්‍ර අතුරින් එක් දිස්ත්‍රික්කයකින් නිර්මාණ 50 බැගින් තෝරා එම නිර්මාණකරුවන් දෙවන වටයේ තරගය සඳහා යොමුකෙරේ. දෙවන වටයේ තරග පළාත් මට්ටමින් විශේෂ වැඩමුළුවක් ද සහිතව පැවැත්වීමට කටයුතු සංවිධානය කරන අතර පළමු වටයේ ජයග්‍රාහකයන් සියලු දෙනා වෙත එදින සහතික පත්‍රයක් ද ලබා දීමට කටයුතු කෙරේ. දෙවන වටයේදී අඳිනු ලබන චිත්‍ර අතුරින් තෝරාගන්නා නිර්මාණ "2018-රාජ්‍ය ළමා චිත්‍ර උළෙල" සඳහා ඉදිරිපත් කිරීමට නියමිතය. එහි දී ජයග්‍රහණය කරන ළමා සිත්තරුන් වෙත රාජ්‍ය ළමා චිත්‍ර උළෙලේදී ත්‍යාග, සම්මාන හා සහතික පත් ප්‍රදානය කෙරෙනු ඇත.

තරග අංශ

| | තරග අංශය | වයස් කාණ්ඩය | උපන් වර්ෂය |
|---|---|---|---|
| 1. | ප්‍රාථමික අංශය | වයස අවුරුදු 05-06 | 2012-2011 |
| 2. | පශ්චාත් ප්‍රාථමික අංශය | වයස අවුරුදු 07-09 | 2010-2009-2008 |
| 3. | කණිෂ්ඨ අංශය | වයස අවුරුදු 10-12 | 2007-2006-2005 |
| 4. | ජ්‍යෙෂ්ඨ අංශය | වයස අවුරුදු 13-15 | 2004-2003-2002 |
| 5. | ජ්‍යෙෂ්ඨ ද්විතීක අංශය | වයස අවුරුදු 16-18 | 2001-2000-1999 |

තරග කොන්දේසි

1. ඔබ කැමති ඕනෑම තේමාවක් සිතුවමට නැගිය හැකිය.
2. ඔබ කැමති ඕනෑම මාධ්‍යයක් චිත්‍ර ඇඳීමට භාවිතා කළ හැකිය.
3. චිත්‍රය අගල් 18X14 ප්‍රමාණය විය යුතුය.
4. එක් අයෙකුට ඉදිරිපත් කළ හැක්කේ එක් නිර්මාණයක් පමණි.
5. එවනු ලබන නිර්මාණය මීට පෙර වෙනත් තරගයට ඉදිරිපත් නොකළ එකක් විය යුතුය.
6. චිත්‍රය ඉදිරිපත් කළ හැක්කේ ඔබගේ ස්ථිර පදිංචි දිස්ත්‍රික්කයෙන් පමණි.
7. ඔබ විසින් එවනු ලබන නිර්මාණ ප්‍රවීණ විනිසුරු මණ්ඩලයකට ඉදිරිපත්කර එයින් තෝරාගන්නා ළමුන් පමණක් අදාළ දිස්ත්‍රික් තරගය සඳහා තෝරාගන්නා අතර තරග පැවැත්වෙන දිනය, වේලාව සහ ස්ථානය පසුව දැනුම්දෙනු ඇත.
8. චිත්‍රයේ පිටුපස පහත තොරතුරු සිංහල, දෙමළ හෝ ඉංග්‍රීසි බසින් නිවැරදිව, පැහැදිලි අත්අකුරින් සඳහන් කළ යුතුය. මෙම තොරතුරු නිවැරදිව සඳහන් නොවන නිර්මාණ තරගයෙන් ඉවත් කෙරෙනු ඇත. ඔබ විසින් එවනු ලබන චිත්‍ර නිර්මාණය නැවත භාරදෙනු නොලැබේ.
(තොරතුරු පත්‍රිකාව නොගැලවෙන සේ ඇලවිය යුතුය.)
9. මේ පිළිබඳ වැඩි විස්තර ඔබ පදිංචි ප්‍රදේශයේ ප්‍රාදේශීය ලේකම් කාර්යාලයේ හෝ දිස්ත්‍රික් ලේකම් කාර්යාලයේ සංස්කෘතික නිලධාරීන් මගින් ලබාගත හැක.

- සම්පූර්ණ නම :..............................................................................................
- මුලකුරු සමග නම :........................................................................................
- උපන් දිනය :..................................................................................................
- 2017.12.31 දිනට වයස :..................................................................................
- තරග අංකය :..................................................................................................
- පෞද්ගලික ලිපිනය :.........................................................................................
- ස්ථිර පදිංචි දිස්ත්‍රික්කය :.................................................................................
- දුරකථන අංකය :..............................................................................................

පසු පිටේ ඇති නිර්මාණය මගේම බව සහතික කරමි.

........................,
අයදුම්කරුගේ අත්සන

චිත්‍ර නිර්මාණ එවිය යුතු ලිපිනය :-

ජාතික සම්බන්ධීකාරක,
රාජ්‍ය දෘශ්‍ය කලා උපදේශක මණ්ඩලය,
ජාතික කලාභවන,
ආනන්ද කුමාරස්වාමි මාවත,
කොළඹ - 07

චිත්‍ර එවනු ලබන ලියුම් කවරයේ හෝ පාර්සලයේ ඉහළ වම් කෙළවරේ "රාජ්‍ය ළමා චිත්‍ර තරගය - 2018" ලෙස සඳහන් කළයුතුය.

අධ්‍යක්ෂ,
සංස්කෘතික කටයුතු දෙපාර්තමේන්තුව.

08 වන මහල, සෙත්සිරිපාය,
බත්තරමුල්ල.

විමසීම් :- 0112882551/0112872031
වැඩි විස්තර සඳහා www.culturaldept.gov.lk වෙබ් පටුවට පිවිසීමෙන් ලබාගත හැක.

01 - 677/1

## සංස්කෘතික කටයුතු දෙපාර්තමේන්තුව

### රාජ්‍ය චිත්‍ර මූර්ති උළෙල - 2018

අභ්‍යන්තර කටයුතු, වයඹ සංවර්ධන හා සංස්කෘතික කටයුතු අමාත්‍යාංශය, සංස්කෘතික කටයුතු දෙපාර්තමේන්තුව සහ රාජ්‍ය දෘශ්‍ය කලා උපදේශක මණ්ඩලය මගින් සංවිධානය කරනු ලබන 2018 රාජ්‍ය චිත්‍ර මූර්ති උළෙල සඳහා අයදුම්පත් භාරගැනීම 2018 ජනවාරි මස 20 වැනි දින සිට මැයි මස 31 වැනි දින දක්වා සිදුකෙරේ. සම්පූර්ණ කරන ලද අයදුම්පත්‍රය සමග චිත්‍ර නිර්මාණයක් නම් එම නිර්මාණයේ පැහැදිලි ඡායා රූප 02ක්, මූර්ති සහ ස්ථාපන නිර්මාණ නම් ඉදිරිපසින්, පිටුපසින් සහ දෙපසින් ගත් ඡායාරූප 04ක් සහ පාස්පෝට් ප්‍රමාණයේ ඔබගේ ඡායාරූපයක් ද සමග (තරග කොන්දේසි යටතේ අංක 10 හි සඳහන් පරිදි) එම ඡායාරූප ඇතුළත් කරන ලද සංයුක්ත තැටියක් අධ්‍යක්ෂ, සංස්කෘතික කටයුතු දෙපාර්තමේන්තුව, 8 වන මහල, සෙත්සිරිපාය, බත්තරමුල්ල. යන ලිපිනයට ලියාපදිංචි තැපෑලෙන් හෝ අතින් ගෙනවිත් භාරදිය හැකිය. (ලියුම් කවරයේ ඉහළ වම් කෙළවරේ "රාජ්‍ය චිත්‍ර මූර්ති උළෙල - 2018" ලෙස සඳහන් විය යුතුය.) ඔබ විසින් එවනු ලබන නිර්මාණ (සංයුක්ත තැටිවල ඇති) ප්‍රවීණ විනිසුරු මඩුල්ලක් මල්ටිමීඩියා සම්ප්‍රේක්ෂණ යන්ත්‍ර මගින් මූලික විනිශ්චය කිරීමෙන් අනතුරුව තෝරාගනු ලැබූ නිර්මාණවල මුල් කෘතිය අප විසින් දනුම් දෙනු ලබන දිනයක් තුළ අදාළ ස්ථානය වෙත ප්‍රදර්ශනයට සුදුසු මට්ටමින් ගෙනවිත් භාරදිය යුතු වේ. තෝරාගනු ලබන සියලුම නිර්මාණ නැවත සමීක්ෂණයකින් පසු ප්‍රදර්ශනයට සුදුසු නිර්මාණ පමණක් 2018 රාජ්‍ය චිත්‍ර මූර්ති උළලේ ප්‍රදර්ශනය සඳහා ඉදිරිපත් කරන අතර, එම නිර්මාණ සඳහා සහතික පත්‍රයක් සහ ජයග්‍රාහකයන්ට සම්මාන, සහතික සහ ත්‍යාග ප්‍රදානය සිදු කෙරේ.

තරග අංශ

- චිත්‍ර
  1. ආලේඛ්‍ය
  2. භූමි දර්ශන
  3. නිර්මාණාත්මක සම්පිණ්ඩන (*සැ.යු.* නිර්මාණාත්මක ආලේඛ්‍ය, භූමිදර්ශන ආදිය ද මෙම කාණ්ඩය යටතේ සලකා බලනු ලබයි.)
  4. සාම්ප්‍රදායික චිත්‍ර පිටපත් කිරීම
     (සිතුවම් පිටපත් කළ ස්ථානය පිළිබඳව කෙටි විස්තරයක් හා මුල් නිර්මාණයේ ඡායාරූපයක් ඉදිරිපත් කිරීම අනිවාර්ය වන අතර, මුල්කෘතියේ ප්‍රමාණය නිවැරදිව සටහන් කළ යුතු ය.)

- මූර්ති
  1. ආලේඛ්‍ය
  2. නිර්මාණාත්මක සම්පිණ්ඩන
     (*සැ.යු.* නිර්මාණාත්මක ආලේඛ්‍ය ආදිය ද මෙම කාණ්ඩය යටතේ සලකා බලනු ලබයි.)
  3. සාම්ප්‍රදායික මූර්ති
     (මුල් නිර්මාණය පිළිබඳව කෙටි විස්තරයක් හා මුල් නිර්මාණයේ ඡායාරූපයක් ඉදිරිපත් කිරීම අනිවාර්ය වේ.)
     (ඕනෑම ස්ථිර මාධ්‍යයක් භාවිතා කළ හැකි ය.)
- ස්ථාපන කලා
  (ලබාදිය හැකි උපරිම ඉඩ ප්‍රමාණය අඩි 8x8x8 (දිග, පළල, උස) වේ.
- රේඛා චිත්‍ර
- මුද්‍රණ විධි

තරග කොන්දේසි :-

1. මෙය වයස අවුරුදු 18ට වැඩි විවෘත තරගයකි.
2. තරගය සඳහා ඉදිරිපත් කළ හැක්කේ 2017 සහ 2018 වර්ෂයේ නිර්මාණ පමණි.
3. පසුගිය වර්ෂවල රාජ්‍ය මූර්ති උළෙල සඳහා ඉදිරිපත් කළ නිර්මාණ මෙම වර්ෂයේ තරගය සඳහා ඉදිරිපත් කළ නොහැකි ය.
4. ඔබ කැමති ඕනෑම මාතෘකාවක් තේමා කරගත හැකි ය.
5. ඔබ කැමති ඕනෑම ස්ථිර මාධ්‍යක් භාවිතා කළහැකි ය.
6. එක් තරග අංශයකින් එක් නිර්මාණයක් පමණක් ඉදිරිපත් කළ හැකි ය.
7. ස්ථාපන යටතේ ඉදිරිපත් කරන නිර්මාණවල උපරිම ප්‍රමාණය උස-අඩි 8, පළල-අඩි 8, දිග-අඩි 8 ක් විය යුතු ය.

8. අයදුම්පත්‍රයේ තොරතුරු සිංහල, දෙමළ හෝ ඉංග්‍රීසි බසින් නිවැරදිව පැහැදිලි අකුරින් සඳහන් කළ යුතුය. මෙම තොරතුරු නිවැරදි, පැහැදිලි නොවන්නේ නම් සහ අසම්පූර්ණ අයදුම්පත්‍ර තරගයෙන් ඉවත් කරනු ඇත.
9. සංයුක්ත තැටියට ඇතුළත් කළ යුත්තේ තරගය සඳහා ඉදිරිපත් කරන නිර්මාණයේ ඡායාරූප සහ ඔබගේ ඡායාරූපයක් පමණි.
10. සංයුක්ත තැටියට ඇතුළත් කරන ඡායරූප (300dpi resolution) යන ගුණාත්මක භාවයෙන් යුක්ත විය යුතුය.
11. සංයුක්ත තැටියේ පිටුපස නම, ලිපිනය, අත්සන සහ දුරකථන අංකය පැහැදිලිව සඳහන් කළ යුතුය.
12. ඔබ විසින් එවනු ලබන නිර්මාණයේ ඡායාරූප ඇතුළත් සංයුක්ත තැටිය නැවත භාරදෙනු නොලැබේ.
13. පළමු වටයේ දී ඔබ විසින් එවනු ලබන නිර්මාණයේ ඡායාරූප ප්‍රවීණ විනිසුරු මඩුල්ලක් වෙත ඉදිරිපත් කර, තෝරාගන්නා නිර්මාණවල මුල් කෘතිය කැඳවා නැවත සමීක්ෂණයකින් පසු ප්‍රදර්ශනය සඳහා ඉදිරිපත් කරනු ලැබේ. එම නිර්මාණ නැවත ඔබ වෙත ලබාදෙනු ඇත.
14. ප්‍රදර්ශනයෙන් පසු දිනම ප්‍රදර්ශන ශාලාවෙන් ඔබගේ නිර්මාණය ඉවත් කරගත යුතු අතර, ඉවත් කර නොගන්නා නිර්මාණ සඳහා අප දෙපාර්තමේන්තුව වගකියනු නොලැබේ.
15. නිර්මාණ බාරදීමේ දී, නැවත රැගෙන යාමේ දී, ප්‍රදර්ශන ශාලාවට රැගෙනයාමේ දී සහ නිර්මාණ ප්‍රදර්ශනය සඳහා සකස් කරන අවස්ථාවන්හි දී නිර්මාණකරු පැමිණීම අනිවාර්ය වේ.
16. ඉහත කොන්දේසි සපුරා නොමැති නිර්මාණ පූර්ව දැනුම් දීමකින් තොරව තරගාවලියෙන් ඉවත් කරනු ලැබේ.
17. විනිශ්චය මණ්ඩලය විසින් ගනු ලබන තීරණ අවසන් තීරණ වේ.

අධ්‍යක්ෂ,
සංස්කෘතික කටයුතු දෙපාර්තමේන්තුව.

08 වන මහල, සෙත්සිරිපාය,
බත්තරමුල්ල.

විමසීම් :- 0112882551/0112872031.
වැඩි විස්තර දිවයිනේ සියලුම දිස්ත්‍රික් සහ ප්‍රාදේශීය ලේකම් කාර්යාල සංස්කෘතික නිධාරීන් මගින් සහ www.culturaldept.gov.lk වෙබ් පිටුවට පිවිසීමෙන් ලබාගත හැකිය.

**රාජ්‍ය චිත්‍ර මූර්ති උළෙල - 2018**

අයදුම්පත්‍රය

සම්පූර්ණ නම

සම්පූර්ණ නම
ඉංග්‍රීසි කැපිටල්
අකුරෙන්

මුලකුරු සමග
නම

දුරකතන ජංගම                    නිවස

E-mail ලිපිනය

ස්ථිර ලිපිනය :

උපන් දිනය : වර්ෂය මාසය දිනය

ජාතික හැඳුනුම්පත් අංකය :

තරග අංශ (✓)

| **A** **චිත්‍ර** | **S** **මූර්ති** |
|---|---|
| ☐ ආලේඛ්‍ය<br>☐ භූමි දර්ශන<br>☐ නිර්මාණාත්මක සම්පිණ්ඩන<br>☐ සාම්ප්‍රදායික චිත්‍ර පිටපත් කිරීම<br>(සිතුවම් පිටපත් කළ ස්ථානය පිළිබඳව කෙටි විස්තරයක් හා මුල් නිර්මාණයේ ඡායා රූපයක් ඉදිරිපත් කිරීම අනිවාර්ය වේ.) | ☐ ආලේඛ්‍ය<br>☐ නිර්මාණාත්මක සම්පිණ්ඩන<br>☐ සාම්ප්‍රදායික මූර්ති<br>(මුල් නිර්මණය පිළිබඳව කෙටි විස්තරයක් හා නිර්මාණයේ ඡායා රූපයක් ඉදිරිපත් කිරීම අනිවාර්ය වේ.)<br>(ඕනෑම ස්ථිර මාධ්‍යක් භාවිතා කළ හැකිය) |
| ☐ **I ස්ථාපන**<br>ලබාදිය හැකි උපරිම ඉඩ ප්‍රමාණය අඩි 8x8x8 (දිග, පළල, උස) | ☐ **P මුද්‍රණ විධි**<br>☐ **L රේඛා චිත්‍ර** |

**නිර්මාණයේ මාතෘකාව**

**නිර්මාණයේ ප්‍රමාණය** උස (cm) දිග (cm) පළල (cm)

ප්‍රදර්ශන කරන ආකාරය (✓)

☐ මේසයක් මත ☐ බිත්තිය මත එල්ලීම

☐ පොළව මත ☐ වෙනත් (..................)

නිර්මාණයේ වටිනාකම රු. :

ඉහත මා විසින් ඉදිරිපත් කර ඇති සියලු තොරතුරු සත්‍ය හා වඩාත් නිවැරදි බවත්, මෙහි ඇතුළත් සියලු කොන්දේසිවලට එකඟ වන බවත් සහතික කරමි.

අත්සන :————.

දිනය :————.

01-677/2

ශ්‍රී ලංකා රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුවේ මුද්‍රණය කරන ලදී.

# ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ ගැසට් පත්‍රය

අංක 2,056- 2018 ජනවාරි මස 26 වැනි සිකුරාදා - 2018.01.26

(රජයේ බලයපිට ප්‍රසිද්ධ කරන ලදී)

## I වැනි කොටස : (IIආ) වැනි ඡෙදය - පළකිරීම්

(වෙන වෙනම ගොනු කර ගත හැකි පරිදි සෑම කොටසකට ම අයත් එක් එක් භාෂාවකට වෙන වෙනම පිටු අංක යොදා ඇත)



**සතිපතා නිකුත් වන ගැසට් පත්‍රයෙහි පළකිරීම සඳහා භාරගනු ලබන දැන්වීම් පිළිබඳ**

**වැදගත් නිවේදනයයි**

ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ *ගැසට් පත්‍රයේ* අවසන් පිටුවේ සෑම මාසයක ම මුල් සතියේ දී පළ කරන නිවේදන භාරගන්නා දිනයන් සහ වේලාවන් පිළිබඳව මින් අවධානය යොමු කරනු ලැබේ.

*ගැසට් පත්‍රයේ* පළකිරීම සඳහා දැන්වීම් භාරගැනීම *ගැසට් පත්‍රය* පළකරනු ලබන දිනයට සති දෙකකට පෙර සිකුරාදා දිනයෙහි දහවල් 12.00ට අවසන් කරනු ලැබේ. තනතුරු - ඇබෑර්තු, විභාග, ටෙන්ඩර් සහ වෙන්දේසි පිළිබඳ දැන්වීම්වල අවසන් දින සහ වේලාවන් ඒ පිළිබඳව උනන්දුවක් දක්වන අයට ප්‍රමාණවත් කාල වේලාවක් ලැබෙන පරිදි යොදාගත යුතු බවට, සියලු ම දෙපාර්තමේන්තු, සංස්ථා සහ මණ්ඩල යනාදිය වගබලාගත යුතු බව මින් අවධාරණය කෙරේ. පළකිරීම සඳහා එවනු ලබන සෑම දැන්වීමක් ම තනි පැත්තේ පමණක් පැහැදිලිව පිටපත් කළ යුතු ය. නිරවද්‍යතාවය පිළිබඳව කරන විමසීම් සහ පැමිණිලි *ගැසට් පත්‍රය* පළ වූ දින සිට **තෙමසකට** පසුව භාරගනු නොලැබේ.

*ගැසට් පත්‍රයේ* පළකරන සෑම දැන්වීමක් ම *ගැසට් පත්‍රය* පළකරනු ලබන දිනට සති දෙකකට පෙර (එනම්, 2018 පෙබරවාරි මස 16 වැනි දින පළ කෙරෙන *ගැසට් පත්‍රයේ* දැන්වීම් 2018 පෙබරවාරි මස 02 වැනි දින දහවල් 12.00ට හෝ ඊට පෙර) තැපෑලෙන් හෝ ගෙනැවිත් රජයේ මුද්‍රණාලයට භාරදිය යුතු ය.

**2006 අංක 19 දරන ඉලෙක්ට්‍රොනික ගණුදෙනු පනත - 9 වැනි වගන්තිය**

*" යම් ප්‍රකාශනයක්, රීතියක්, නියෝගයක්, නියමයක්, අතුරු ව්‍යවස්ථාවක්, නිවේදනයක් හෝ වෙනත් කිසිවක් ගැසට් පත්‍රයේ පළකළ යුතු බවට යම් පනතකින් හෝ නීති ප්‍රඥප්තියකින් විධිවිධාන සලස්වා ඇති අවස්ථාවක, ඒ රීතිය, නියෝගය, නියමය, අතුරු ව්‍යවස්ථාව, නිවේදනය හෝ වෙනත් දෙය ඉලෙක්ට්‍රොනික ස්වරූපයේ වන ගැසට් පත්‍රයක පළකරනු ලැබුවහොත් ඒ විධිවිධානය සම්පූර්ණකර ඇත්තාක් සේ සැලකිය යුතුය."*

**ගංගානි ලියනගේ,**
රජයේ මුද්‍රණාලයාධිපති *(වැ. බ.).*

2018 ජනවාරි මස 01 වැනි දින,
කොළඹ 08,
රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුවේ දී ය.

*මෙම ගැසට් පත්‍රය* *www. documents.gov. lk* *වෙබ් අඩවියෙන් බාගත කළ හැක.*

# ටෙන්ඩර් කැඳවීමේ දැන්වීම්

**ඉඩම් අමාත්‍යාංශය**

ශ්‍රී ලංකා මිනින්දෝරු දෙපාර්තමේන්තුව

**මිල ගණන් කැඳවීමයි**

*ප්‍රාදේශීය මිනින්දෝරු කාර්යාල සඳහා ගොඩනැගිලි කුලියට ගැනීම - 2018*

වසර දෙකක කාලයක් සඳහා පහත දැක්වෙන ප්‍රාදේශීය මිනින්දෝරු කාර්යාලය සඳහා ගොඩනැගිල්ලක් කුලියට ගැනීමට මිල ගණන් 2018.02.12 වැනි දින පස්වරු 2.00 දක්වා අදාළ පළාත් සර්වේයර් ජනරාල් කාර්යාලයේ දී භාරගනු ලැබේ. එදිනම ප. ව. 2.05 ට මිල ගණන් විවෘත කරනු ලැබේ.

| *පළාත* | *දිස්ත්‍රික්කය* | *ප්‍රාදේශීය මිනින්දෝරු කාර්යාලය* | *මිල ගණන් භාර ගැනීම* | *ආසන්න නගරය* | *නිවස අවශ්‍ය දිනය* |
|---|---|---|---|---|---|
| වයඹ පළාත | කුරුණෑගල | ගල්ගමුව | පළාත් සර්වේයර් ජනරාල් (වයඹ පළාත) පළාත් සර්වේයර් ජනරාල් කාර්යාලය, කුරුණෑගල | ගල්ගමුව නගරය අවටින් | 2018.02.16 |

*සපුරාලිය යුතු පොදු අවශ්‍යතා :*

සෑම ගොඩනැගිල්ලක්ම ආරක්ෂිත වැටකින් හෝ තාප්පයකින් ආරක්ෂා වී තිබිය යුතු ය. ජල නළ පහසුකම් තිබිය යුතු අතර, අප ද්‍රව්‍ය හෝ ජලය ඉවත් කිරීමේ ක්‍රමවත් පද්ධතියක් තිබිය යුතු ය. ජල හා විදුලි මීටර් වෙන වෙන ම තිබිය යුතු ය. යාබදව අධික ශබ්ද නැගෙන කර්මාන්තශාලා හෝ එවැනි වෙනත් දෑ නොතිබිය යුතු ය. ගොඩනැගිල්ල පිහිටා ඇත්තේ ප්‍රධාන මාර්ගයට යාබදව නොවේ නම් ඒ සඳහා ක්‍රමවත් පිවිසුම් මාර්ගයක් තිබිය යුතු ය. අවම වශයෙන් වාහන 3ක් නවතා තැබීමට පහසුකම් තිබිය යුතු ය.

පහත දක්වා ඇති ආකෘතියට අනුව සකසන ලද ඉල්ලුම් පත්‍ර, සපුරාලිය යුතු පොදු අවශ්‍යතා විස්තර ද, සහිතව, ලිපි කවරයේ ඉහළ වම් කෙළවරෙහි "ප්‍රාදේශීය මිනින්දෝරු කාර්යාල කුලියට ගැනීම (අදාළ ස්ථාන නාමය)" යනුවෙන් සඳහන් කර, 2018.02.12 වැනි දින පස්වරු 2.00 ට පෙර ලැබෙන සේ පළාත් සර්වේයර් ජනරාල් කාර්යාලයට ලියාපදිංචි තැපෑලෙන් එවීම හෝ ගෙනැවිත් භාරදීම කළ හැකිය.

එස්. ඩී. පී. ජේ. දාම්පෙගම,
අතිරේක සර්වේයර් ජනරාල් (ක්ෂේත්‍ර) (වැ. බ.)

2018 ජනවාරි මස 11 වැනි දින,
කොළඹ 05, කිරුල පාර,
සර්වේයර් ජනරාල් කාර්යාලයේ දී ය.

*ප්‍රාදේශීය මිනින්දෝරු කාර්යාල සඳහා ගොඩනැගිලි කුලියට ගැනීම - 2018*

**මිල ගණන් කැඳවීමේ ඉල්ලුම්පත්‍රය - 2018**

*ගොඩනැගිලි අයිතිකරුගේ -*

1. සම්පූර්ණ නම : ____________.
2. ලිපිනය : ____________.
3. දුරකථන අංකය : ____________.
4. ජාතික හැඳුනුම්පත් අංකය : ____________.

ගොඩනැගිල්ල -

1. කුලියට දෙනු ලබන්නේ කුමන ප්‍රාදේශීය මිනින්දෝරු කාර්යාලය සඳහා ද? : ____________.
2. මාසික කුලී මුදල : ____________.
3. පිහිටි ස්ථානයේ ලිපිනය : ____________.
4. අදාළ නගරයේ සිට පිහිටි ස්ථානයට ඇති දුර ප්‍රමාණය කි. මී. : ____________.
5. භූමියේ විශාලත්වය : ____________.
6. ගොඩනැගිල්ලේ වර්ග අඩි ප්‍රමාණය හා කාමර ගණන ආදිය පිළිබඳව විස්තර: ____________.
7. වෙනම කියවිය හැකි ජල මීටර් තිබේ ද? : ____________.
8. වෙනම කියවිය හැකි විදුලි මීටර් තිබේ ද? : ____________.
9. ආරක්ෂිත මායිම් විස්තර සපයන්න (තාප්පය/කම්බි වැට/..........................) : ____________.
10. නවතා තැබීමට හැකි වාහන ගණන : ____________.

ඉහත තොරතුරු සත්‍ය බවත් යම් තොරතුරක් අසත්‍ය බව හෙළිවුවහොත් මවිසින් ඉදිරිපත් කරනු ලබන මිල ගණන් සර්වේයර් ජනරාල් ප්‍රතික්ෂේප කරනු ලබන බව මම දන්නා බවත් මෙයින් පිළිගනිමි.

____________.

අයදුම්කරුගේ අත්සන.

01-725

---

## ශ්‍රී ලංකා දුම්රිය සේවය

### ප්‍රසම්පාදන දැන්වීමයි

**ප්‍රීමා සිලෝන් (ප්‍රයිවට්) ලිමිටඩ් සමග ඇතිකරගත් එකගතා ගිවිසුම ප්‍රකාරව ශ්‍රී ලංකා දුම්රිය සේවයට, අමතර තිරිංග පද්ධති සංරචක ඒකක 06ක් සමග බහලුම් වාහක වැගන් 15 ක සංඛ්‍යාවක් සැපයීම සඳහා වන ප්‍රසම්පාදනය**

ප්‍රසම්පාදන අංක : SRS/F.7564

01. ශ්‍රී ලංකාවේ බත්තරමුල්ල සෙත්සිරිපාය අදියර 02 හි, 7 වන මහලේ, ප්‍රවාහන හා සිවිල් ගුවන් සේවා අමාත්‍යාංශයෙහි අමාත්‍යාංශ ප්‍රසම්පාදන කමිටුවේ සභාපති විසින් ශ්‍රී ලංකා දුම්රිය සේවයට අමතර තිරිංග පද්ධති සංරචක 06ක් ද සමග බහලුම් වාහක වැගන් 15ක් සැපයීම සඳහා ලොව ප්‍රකට පිළිගත් කීර්තිමත් නිෂ්පාදකවරුන්/ සැපයුම්කරුවන් වෙතින් මුද්‍රා තබන ලද ලංසු භාරගනු ලැබේ.ලංසුකරුවන්හට, ස්වකීය ලංසු නෛතිකව, ක්‍රියාත්මක හා බලගන්වන ලද ඇටර්නි බලපත්‍රයක් මගින් බලාත්මක කරන ලද ශ්‍රී ලංකාවේ ලියාපදිංචි බලයලත් ඒජන්තවරුන් මාර්ගයෙන් ද ඉදිරිපත් කළ හැකි ය.

02. ලංසු, ශ්‍රී ලංකාවේ කොළඹ 10, ඕල්කට් මාවතේ, දුම්රිය ගබඩා අධිකාරි කාර්යාලය වෙතින් ලංසු ලියවිලි සමග ලබාගත හැකි, ආකෘති පත්‍ර මත ඉදිරිපත් කළ යුතු වන අතර, එම ලංසු ලිපි ලේඛන ලංසුකරුවන්ට, ආපසු ගෙවනු නොලබන **ශ්‍රී ලංකා රුපියල් තිස්පන්දහසක ගාස්තුවක්** (ශ්‍රී. ල. රු. 35,000.00) ක ගාස්තුවක් **ගෙවීමෙන් ශ්‍රී ලංකාවේ වේලාවෙන් පැය 9.00 සහ පැය 15.00** අතරතුර දී 2018.01.08 වැනි දින සිට 2018.02.27 දින දක්වා **සාමාන්‍ය රාජකාරි දිනවලදී** මිලදී ලබාගත හැකි ය. විදේශීය ලංසුකරුවන්හට, අදාළ රටවල ශ්‍රී ලංකා තානාපති දූත කාර්යාලවලට එම රු. 35,000.00 ක මුදලට සමාන, විදේශීය මුදල් වර්ගයකින් පරිවර්තනය කළ හැකි ගාස්තුවක් ගෙවා ශ්‍රී ලංකාවේ, කොළඹ 10, ඕල්කට් මාවතේ, දුම්රිය ගබඩා අධිකාරි වෙත ශ්‍රී ලංකාවේ තානාපති දූත කාර්යාලය මගින්, ලංසු ලිපි ලේඛන සහ ආකෘතිපත්‍ර තමන් වෙත එවන මෙන් දැනුම් දිය යුතු ය. එම රු. 35,000.00 ක මුදල (පරිවර්තනය කළ හැකි විදේශීය මුදල් වර්ගයක මුදල) (එනම් ලංසු ගාස්තුව) ආපසු ගෙවනු නොලබන ගාස්තුවකි. ලංසු ඉහත සඳහන් පරිදි මිල දී ගත හැකි එම දෘඩ (Hard) පිටපත් ලේඛන භාවිත කරමින් ඉදිරිපත් කළ යුතු ය. ලංසු ලේඛනවල ආදර්ශයන්, ලංසුකරුගේ අදළ රටවල ශ්‍රී ලංකා තානාපති දූත කාර්යාලයේ දී පරීක්ෂා කර බැලිය හැකි ය.

03. ලංසු භාරගැනීම 2018.02.28 වැනි දින පැය 14.00 ට (ශ්‍රී ලංකා වේලාවෙන්) විවෘත කරනු ලැබේ. මුද්‍රා තබන ලද ලංසු, එම ලංසු භාරගන්නා අවසාන වේලාවට මත්තෙන් පහත සඳහන් ලිපිනයට ලැබෙන සේ ලියාපදිංචි කළ තැපෑලෙන් එවීම හෝ ගෙනැවිත් භාරදීම හෝ කළ යුතු ය.

සභාපති,
අමාත්‍යාංශ ප්‍රසම්පාදන කමිටුව,
ලේකම් භාරේ,
ප්‍රවාහන හා සිවිල් ගුවන් සේවා අමාත්‍යාංශය,
7 වන මහල, සෙත්සිරිපාය, අදියර 02, බත්තරමුල්ල, ශ්‍රී ලංකාව.

04. ලංසු ඉහත 03 වන ඡේදයේ සඳහන් ලිපිනයේ දී, එම ලංසු භාරගන්නා වේලාව අවසන් වූ වහාම විවෘත කරනු ලබන අතර, එම අවස්ථාවට ලංසුකරුවන් හෝ ඔවුන්ගේ බලයලත් නියෝජිතයින්හට පැමිණ සිටින මෙන් ආරාධනය කෙරේ.

05. ලංසු ලිපිලේඛන අදාළ රටවල දී ශ්‍රී ලංකා තානාපති කාර්යාලවලදී සහ කොළඹ 10, ඕල්කට් මාවතේ දුම්රිය ගබඩා අධිකාරි කාර්යාලයේ දී නොමිලේ (ගාස්තු ගෙවීමෙන් තොරව) පරීක්ෂා කර බැලිය හැකි ය.

06. වැඩිදුර විස්තර සඳහා ශ්‍රී ලංකාවේ, කොළඹ 10, ඕල්කට් මාවතේ, තැ. පෙ. අංක 1347, දුම්රිය ගබඩා දෙපාර්තමේන්තුවේ දුම්රිය ගබඩා අධිකාරී වෙතින් කරුණාකර විමසනු මැනවි. දුරකථන අංක 94 (0) 112436818 හෝ 94 (0) 112438078, ෆැක්ස් 94 (0) 112432044, ඊමේල් srs.slr@gmail.com

සභාපති,
අමාත්‍යාංශ ප්‍රසම්පාදන කමිටුව.

යොමුව. SRS/F.7564

01-679

---

**ශ්‍රී ලංකා දුම්රිය සේවය**

ප්‍රසම්පාදන නිවේදනය

වක්‍රාකාර ස්විච් (Curved Switches) මිලදී ගැනීමේ ප්‍රසම්පාදනය
(Rail Section 60 E1/60 Kg - 1676 mm Track Gauge) - SRS/F. 7445

01. වක්‍රාකාර ස්විච් (Rail Section 60 E1/60 kg for - 1676 mm Gauge) සැලසුම් කිරීම, නිෂ්පාදනය කිරීම සඳහා ශ්‍රී ලංකාවේ, කොළඹ 10, ඕල්කට් මාවතෙහි, ශ්‍රී ලංකා දුම්රිය සේවයෙහි, දෙපාර්තමේන්තු ප්‍රසම්පාදන කමිටු සභාපති (ප්‍රධාන) විසින් විදේශීය නිෂ්පාදකයින්ගෙන්/සැපයුම්කරුවන්ගෙන් මුද්‍රා තබන ලද ලංසු භාරගනු ලබයි. නිෂ්පාදකයින්ට/සැපයුම්කරුවන්ට ඔවුන්ගේ ලංසු, ඇටෝර්නි බලපත්‍රයකින් බලය පවරනු ලැබූ පිළිගත් නියෝජිතයින් මාර්ගයෙන් ඉදිරිපත් කළ හැකි ය.

02. 2018.02.09 වැනි දින ප. ව. 2.00 ට (ශ්‍රී ලංකා වේලාවෙන්) ලංසු භාරගැනීම අවසන් වනු ඇත.

03. ආපසු ගෙවනු නොලබන ලේඛන ගාස්තුවක් වන රු. 7,000ක් (රුපියල් හත්දහසක් පමණයි) හෝ පහසුවෙන් පරිවර්තනය කළ හැකි ඒ හා සමාන මුදලක් ගෙවීමෙන් ශ්‍රී ලංකාවෙහි, කොළඹ 10, ඕල්කට් මාවතෙහි, දුම්රිය ගබඩා අධිකාරි කාර්යාලයෙන් හෝ පිටරටවල තිබෙන ශ්‍රී ලංකා දූත මණ්ඩල වෙතින් 2018.02.08 වැනි දින ප. ව. 3.00 දක්වා (ශ්‍රී ලංකා වේලාවෙන්) ලබාගත හැකි පෝරමවල ලංසු ඉදිරිපත් කළ යුතු ය.

04. ලංසු භාරගැනීම අවසන් වූ වහාම ලංසු විවෘත කිරීම දුම්රිය ගබඩා අධිකාරි කාර්යාලයේ දී සිදුකරනු ඇත.

05. මුද්‍රා තබන ලද ලංසු පහත සඳහන් ලිපිනයට ලියාපදිංචි තැපෑලෙන් එවිය යුතු ය. එසේ නැතහොත් ගෙනැවිත් භාරදිය යුතු ය.

සභාපති,
දෙපාර්තමේන්තු ප්‍රසම්පාදන කමිටුව (ප්‍රධාන) ශ්‍රී ලංකා දුම්රිය සේවය,
දුම්රිය ගබඩා අධිකාරි කාර්යාලය,
තැ. පෙ. 1347, ඕල්කට් මාවත, කොළඹ 10, ශ්‍රී ලංකාව.

06. ලංසු ලියකියවිලි පරීක්ෂා කිරීම ගෙවීම් කිරීමකින් තොරව දුම්රිය ගබඩා අධිකාරි කාර්යාලයේ දී සිදු කළ හැකි ය.

07. වැඩිදුර විස්තර සඳහා මෙසේ අමතන්න :

දුරකථන අංකය : 94(11) 2438078 හෝ 94 (11) 2436818
ෆැක්ස් අංකය : 94 (11) 2432044
විද්‍යුත් තැපෑල : srs.slr@gmail.com

සභාපති,
දෙපාර්තමේන්තු ප්‍රසම්පාදන කමිටුව (ප්‍රධාන),
ශ්‍රී ලංකා දුම්රිය සේවය.

යොමු අංකය : SRS/F.7445

01 - 678

---

# බඩු බාහිරාදිය විකිණීම්

**දිසා අධිකරණය - ඇල්පිටිය**

අධිකරණයේ භාවිතයෙන් ඉවත් කරන ලද භාණ්ඩ අධිකරණ අමාත්‍යාංශයේ අනුමැතිය ප්‍රකාරව ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණීම

ඇල්පිටිය දිසා අධිකරණයේ භාවිතයෙන් ඉවත් කරන ලද භාණ්ඩ 2018.02.15 වැනි දින ප. ව. 1.00 ට අධිකරණ භූමියේ දී ප්‍රසිද්ධ වෙන්දේසියේ විකුණනු ලබන බව මෙයින් නිවේදනය කරනු ලැබේ.

02. අධිකරණ රෙජිස්ට්‍රාර්වරයාගේ පූර්ණ අවසරය මත වෙන්දේසිය ආරම්භ කිරීමට පැය භාගයකට (1/2) පෙර වෙන්දේසියේ විකිණීමට නියමිත භාණ්ඩ මහජනයාට පරීක්ෂා කර බැලිය හැකි ය.

03. අධිකරණය විසින් නියම කරනු ලබන අවම ලංසුව නොපිළිගැනෙන අවස්ථාවල දී අධිකරණයේ අභිමතය පරිදි එම ද්‍රව්‍යයන් වෙන්දේසියෙන් ඉවත් කර ගැනීමේ අයිතිය අධිකරණය සතු වේ.

04. වෙන්දේසියෙන් මිල දී ගනු ලබන භාණ්ඩ එම අවස්ථාවේ දී ම මුදල් ගෙවා අධිකරණ භූමියෙන් ඉවත් කර ගත යුතු ය. සියළුම ගෙවීම් මුදලින් කළ යුතු අතර චෙක්පත් ආදිය භාරගනු නොලැබේ.

05. වෙන්දේසියෙන් භාණ්ඩ මිල දී ගන්නා සෑම අයෙකු ම තම අනන්‍යතාවය තහවුරු කළ යුතු ය.

අරුණ වික්‍රමසිංහ,
දිසා විනිසුරු,
ඇල්පිටිය.

දිසා අධිකරණය,
ඇල්පිටිය.

**භාණ්ඩ ලැයිස්තුව**

| | *අයිතමය* | *ප්‍රමාණය* |
|---|---|---|
| 01. | වානේ කැබිනට් ලාච්චු 04 | 03 |
| 02. | නීතිඥ මේස | 01 |
| 03. | යතුරු ලියන (සිංහල) | 01 |
| 04. | යතුරු ලියන (ඉංග්‍රීසි) | 01 |
| 05. | පරිගණක මුද්‍රණ යන්ත්‍ර | 02 |
| 06. | ෆැක්ස් යන්ත්‍ර | 01 |
| 07. | ඡායා පිටපත් යන්ත්‍ර | 01 |

01-749

---

**මහෙස්ත්‍රාත් අධිකරණය - නාඋල**

**නාඋල මහෙස්ත්‍රාත් අධිකරණය මගින් රාජසන්තක කරනු ලැබූ භාණ්ඩ ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණීම**

01. නාඋල මහෙස්ත්‍රාත් අධිකරණයේ රාජසන්තක කරනු ලැබූ භාණ්ඩ 2018.02.24 වැනි දින පෙ. ව. 9.30 ට එම අධිකරණ භූමියේ දී ප්‍රසිද්ධ වෙන්දේසියේ දී විකුණනු ලැබේ.

02. පහත සඳහන් භාණ්ඩ ලේඛනයේ සඳහන් කිසියම් භාණ්ඩයක් සම්බන්ධයෙන් හිමිකම්පාන්නෙකු වේ නම්, වෙන්දේසිය පවත්වන දින වෙන්දේසිය ආරම්භ කිරීමට පෙර ස්වකීය හිමිකම් ඉදිරිපත් කළ යුතු අතර, ඒ පිළිබඳ සලකා බැලීම සඳහා අදාල භාණ්ඩ වෙන්දේසියෙන් ඉවත් කරනු ලැබේ.

03. අධිකරණයේ රෙජිස්ට්‍රාර්වරයාගේ අවසර ලබා වෙන්දේසිය ආරම්භ කිරීමට පැය එක හමාරකට පෙර වෙන්දේසියට නියමිත භාණ්ඩ මහජනතාවට පරීක්ෂා කර බැලිය හැක.

04. අධිකරණය විසින් නියම කරනු ලබන අවම ලංසුව නොපිළිගැනෙන අවස්ථාවේ දී අධිකරණයේ අභිමතය පරිදි එම භාණ්ඩ වෙන්දේසියෙන් ඉවත් කර ගැනීමේ අයිතිය අධිකරණය සතුව පවතී.

05. වෙන්දේසියෙන් මිළ දී ගනු ලබන භාණ්ඩ භාර ගැනීමේ දී හා මුදල් ගෙවීමේ දී තම ජාතික හැඳුනුම්පත ඉදිරිපත් කළ යුතු අතර, භාණ්ඩ මිළ දී ගැනීමට පැමිණෙන සෑම අයෙකුටම ජාතික හැඳුනුම්පත තිබීම අනිවාර්ය වේ.

06. භාණ්ඩ මිල දී ගැනීම මුදලින් කළ යුතු අතර මිළ දී ගන්නා ලද භාණ්ඩ වෙන්දේසිය පවත්වන දිනයේ දී ප. ව. 4.00 ට පෙර අධිකරණ භූමියෙන් ඉවත් කර ගත යුතු ය.

සුරංග මුණසිංහ,
මහෙස්ත්‍රාත්,
මහෙස්ත්‍රාත් අධිකරණය,
නාඋල.

2018 ජනවාරි මස 03 වැනි දින,
නාඋල මහෙස්ත්‍රාත් අධිකරණයේ දී ය.

**නඩු භාණ්ඩ ලැයිස්තුව**

| *අනු. අංකය* | *නඩු අංකය* | *භාණ්ඩ විස්තරය* |
|---|---|---|
| 01 | 23615 | ෆයිබර් බෝට්ටු 01<br>තහඩු පෙට්ටිය<br>විල් බැරෝ 02<br>යකඩ සවල් 03<br>යකඩ බාල්දි 02 |
| 02 | 23547 | ෆයිබර් බෝට්ටු 01<br>විල් බැරෝ 01<br>යකඩ බාල්දි 01<br>සවල් 01 |
| 03 | 23302 | ෆයිබර් බෝට්ටු 01<br>යකඩ බාල්දි 01<br>යකඩ අලවංගු 01<br>සවල් 01 |
| 04 | 23628 | ෆයිබර් බෝට්ටු 01<br>විල් බැරෝ 01<br>සවල් 01<br>උදලු 01 |
| 05 | 23299 | ෆයිබර් බෝට්ටු 01<br>විල් බැරෝ 03 |

| අනු. අංකය | නඩු අංකය | භාණ්ඩ විස්තරය |
|---|---|---|
| | | බාල්දි 03<br>සවල් 04<br>උදලු 01 |
| 06. | 23627 | ෆයිබර් බෝට්ටු 01<br>තහඩු පෙට්ටිය<br>විල් බැරෝ 03<br>සවල් 04<br>බාල්දි 02<br>යකඩ ඉණි 01 |
| 07. | 16976 | බෝට්ටු 01 |

01-603

---

**අධිකරණය මගින් රාජසන්තක කරන ලද හා මෙතෙක් අයිතිවාසිකම් පවරනු නොලැබූ භාණ්ඩ වෙන්දේසියේ විකිණීම**

යාපනය මහෙස්ත්‍රාත් අධිකරණයේ පහත සඳහන් නඩුවලට අදළ රාජසන්තක කරන ලද හා මෙතෙක් අයිතිවාසිකම් පවරනු නොලැබූ පහත සඳහන් කර ඇති භාණ්ඩ මෙම අධිකරණය භූමිය තුළ 2018.02.24 වැනි දින පෙ. ව. 9.00 ට ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණීමට ඇත.

02. මෙහි පහත සඳහන් කරනු ලැබූ කිසියම් භාණ්ඩයක් සඳහා කිසිවකු විසින් අයිතිය පවරනු ලබන්නේ නම්, තම ඉල්ලීම වෙන්දේසිය පටන් ගැනීමට පැය භාගයකට පෙර ඉදිරිපත් කළ යුතු ය.

03. අධිකරණයේ රෙජිස්ට්‍රාර්වරයාගේ අවසරය මත වෙන්දේසිය පටන් ගැනීමට පැය භාගයකට පෙර මහජනයා විසින් මෙම භාණ්ඩ නැරඹිය හැක.

04. ප්‍රසිද්ධ වෙන්දේසියේ දී විකිණීමට තබා ඇති යම්කිසි භාණ්ඩයක වටිනාකමට මිල නොලැබුනේ නම් වෙන්දේසියේ දී එම භාණ්ඩය ආපසු ලබා ගැනීමේ අයිතිය අධිකරණය සතු වනු යි.

05. විකුණනු ලැබූ භාණ්ඩවලට එවෙලෙහි ම මුදල් ගෙවා භාණ්ඩ වෙන් කළ යුතු යි. සෑම ගෙවීමක් ම මුදලින් ම ගෙවිය යුතු වන අතර චෙක්පත් භාරගනු නොලැබේ.

එස්. සතීස්තරන්,
මහෙස්ත්‍රාත්,
යාපනය.

| අනු. අංකය | නඩු අංකය | වාහන අංකය | භාණ්ඩ විස්තර | ප්‍රමාණය |
|---|---|---|---|---|
| 1. | AR/1372/16 | NP BAH - 9060 | යතුරු පැදිය | 1 |
| 2. | AR/69/17 | EPXI 9206 | යතුරු පැදිය | 1 |
| 3. | AR/1171/16 | NWMV 9568 | යතුරු පැදිය | 1 |
| 4. | AR/1101/16 | NPHR 9923 | යතුරු පැදිය | 1 |
| 5. | AR/1101/16 | WPHV 8713 | යතුරු පැදිය | 1 |
| 6. | AR/1101/16 | NPJL 6275 | යතුරු පැදිය | 1 |
| 7. | 40906 | NPBBK 3230 | යතුරු පැදිය | 1 |
| 8. | AR/67/17 | NPHX 2211 | යතුරු පැදිය | 1 |
| 9. | AR/1020/16 | NPGY 9877 | යතුරු පැදිය | 1 |
| 10. | AR/933/16 | NAXC 0448 | යතුරු පැදිය | 1 |
| 11. | BR/1205/15 | NPBBT 0862 | යතුරු පැදිය | 1 |
| 12. | AR/936/16 | NPMR 2782 | යතුරු පැදිය | 1 |
| 13. | AR/330/15 | - | යතුරු පැදිය | 1 |
| 14. | AR/1062/16 | NPMO 9963 | යතුරු පැදිය | 1 |
| 15. | AR/961/16 | 500 - 2479 | යතුරු පැදිය | 1 |
| 16. | AR/329/15 | NPHN 0579 | යතුරු පැදිය | 1 |
| 17. | 26436 | - | යතුරු පැදිය | 1 |
| 18. | AR/211/17 | _ | යතුරු පැදිය | 1 |
| 19. | AR/212/17 | NPXD 2770 | යතුරු පැදිය | 1 |
| 20. | AR/213/17 | NPMP 7978 | යතුරු පැදිය | 1 |
| 21. | AR/138/17 | WPJR 7358 | යතුරු පැදිය | 1 |
| 22. | AR/142/17 | WPLB 5643 | යතුරු පැදිය | 1 |
| 23. | AR/289/17 | 133- 9705 | යතුරු පැදිය | 1 |
| 24. | AR/355/17 | NPXI 4128 | යතුරු පැදිය | 1 |
| 25. | AR/42/17 | NPGL 8813 | යතුරු පැදිය | 1 |
| 26. | AR/43/17 | NPHI 6643 | යතුරු පැදිය | 1 |
| 27. | AR/508/17 | NPWS5734 | යතුරු පැදිය | 1 |
| 28. | MC/690/S/16 | - | ට්‍රේලර් | 1 |
| 29. | MC/2784/S/17 | - | ට්‍රේලර් | 1 |
| 30. | MC/2522/S/16 | - | ට්‍රේලර් | 1 |
| 31. | MC/118/S/17 | - | ට්‍රේලර් | 1 |

| අනු. අංකය | නඩු අංකය | නඩු භාණ්ඩ අංකය | නඩු භාණ්ඩ විස්තර | ප්‍රමාණය |
|---|---|---|---|---|
| 1. | AR/1373/16 | 112/16 | 69907825 | 1 |
| 2. | AR/1374/16 | 324/16 | 55671243 | 1 |
| 3. | AR/1174/16 | 150/16 | 69910079 | 1 |
| 4. | AR/1173/16 | 143/16 | 69942187 | 1 |
| 5. | AR/1175/16 | 100/16 | 69606660 | 1 |
| 6. | AR/70/17 | 85/16 | 69890671 | 1 |
| 7. | AR/68/17 | 105/17 | 57161362 | 1 |
| 8. | AR/68/17 | 105/17 | 03ER2562 | 1 |
| 9. | AR/68/17 | 105/17 | L11611360 | 1 |
| 10. | AR/68/17 | 105/17 | E610986 | 1 |
| 11. | AR/1176/16 | 113/16 | 69740211 | 1 |
| 12. | AR/1177/16 | 190/16 | 57132389 | 1 |
| 13. | AR/1172/16 | 191/16 | අංක නැත | 1 |
| 14. | AR/967/16 | Apr - 16 | 69886250 | 1 |
| 15. | AR/1100/16 | 65/16 | 69781101 | 1 |

| අනු. අංකය | නඩු අංකය | නඩු භාණ්ඩ අංකය | නඩු භාණ්ඩ විස්තර | ප්‍රමාණය |
|---|---|---|---|---|
| 16. | AR/812/16 | 118/16 | අංක නැත | 1 |
| 17. | AR/868/16 | 35/16 | 69902233 | 1 |
| 18. | AR/868/16 | 36/16 | 57163675 | 1 |
| 19. | AR/813/16 | 86/16 | අංක පැහැදිලි නැත | 1 |
| 20. | AR/1018/16 | 51/15 | 57165242 | 1 |
| 21. | AR/1019/16 | 181/16 | 69844708 | 1 |
| 22. | AR/1063/16 | 24/16 | 69580317 | 1 |
| 23. | AR/911/16 | 17/16 | 69773350 | 1 |
| 24. | AR/914/16 | 18/16 | B112060341 | 1 |
| 25. | AR/962/16 | Dec- 16 | A 1152 | 1 |
| 26. | AR/963/16 | 75/16 | අංක පැහැදිලි නැත | 1 |
| 27. | AR/964/16 | 148/15 | U 4019482 | 1 |
| 28. | AR/966/16 | 134/16 | 69892887 | 1 |
| 29. | AR/101/17 | 176/16 | 57160761 | 1 |
| 30. | AR/102/17 | 165/15 | අංක පැහැදිලි නැත | 1 |
| 31. | AR/103/17 | 180/16 | 56100949 | 1 |
| 32. | AR/104/17 | 109/16 | අංක පැහැදිලි නැත | 1 |
| 33. | AR/105/17 | 31/16 | 69584168 | 1 |
| 34. | AR/136/17 | 699/16 | 69273628 | 1 |
| 35. | AR/273/17 | 305/17 | 69317941 | 1 |
| 36. | AR/143/17 | 79/16 | 7712899 | 1 |
| 37. | AR/143/17 | 196/17 | අංක නැත | 1 |
| 38. | AR/143/17 | 144/16 | අංක නැත | 1 |
| 39. | AR/356/17 | 35/17 | අංක පැහැදිලි නැත | 1 |
| 40. | AR/354/17 | 41/17 | අංක පැහැදිලි නැත | 1 |
| 41. | AR/371/17 | 459/17 | 69831475 | 1 |
| 42. | AR/398/17 | 610/16 | 69745560 | 1 |
| 43. | AR/398/17 | 610/16 | 69825483 | 1 |
| 44. | AR/398/17 | 610/16 | 69883315 | 1 |
| 45. | AR/398/17 | 610/16 | 69824568 | 1 |
| 46. | AR/398/17 | 610/16 | අංක පැහැදිලි නැත | 1 |
| 47. | AR/45/17 | 65/16 | 609335309 | 1 |
| 48. | AR/46/17 | 199/16 | 5571162 | 1 |
| 49. | AR/47/17 | 597/16 | අංක නැත | 1 |
| 50. | MC/602/17 | 85/17(p1) | 56687390 | 1 |
| 51. | MC/602/17 | 85/17(p2) | 69631650 | 1 |
| 52. | MC/602/17 | 85/17(p3) | 69631650 | 1 |
| 53. | MC/602/17 | 85/17(p4) | 55603289 | 1 |
| 54. | MC/602/17 | 85/17(p1) | 69591733 | 1 |
| 55. | MC/602/17 | 85/17(p2) | අංක නැත | 1 |
| 56. | MC/602/17 | 85/17(p3) | 69887918 | 1 |
| 57. | MC/602/17 | PR/87/17(p1) | 69632242 | 1 |
| 58. | MC/602/17 | PR/87/17(p2) | 5713629 | 1 |
| 59. | MC/602/17 | PR/87/17(p3) | 188785 | 1 |
| 60. | MC/602/17 | 88/17(p1) | 69869896 | 1 |
| 61. | MC/602/17 | 88/17(p1) | o7022113 | 1 |
| 62. | MC/602/17 | 88/17(p3) | 69778088 | 1 |
| 63. | MC/602/17 | 88/17(p4) | 57149705 | 1 |
| 64. | MC/602/17 | 89/17(p1) | 69902889 | 1 |
| 65. | MC/602/17 | 89/17(p2) | 57152842 | 1 |
| 66. | MC/602/17 | 89/17(p3) | 69575843 | 1 |
| 67. | MC/602/17 | 89/17(p4) | 57206693 | 1 |
| 68. | MC/602/17 | 90/17(p1) | 69816980 | 1 |
| 69. | MC/602/17 | 90/17(p2) | 6991192 | 1 |
| 70. | MC/602/17 | 90/17(p3) | 69596494 | 1 |
| 71. | MC/602/17 | 91/17(p1) | LU09073 | 1 |
| 72. | AR/602/17 | 91/17(p2) | UL758014 | 1 |
| 73. | AR/602/17 | 91/17(p3) | අංක පැහැදිලි නැත | 1 |
| 74. | AR/602/17 | 91/17(p4) | 69886761 | 1 |
| 75. | AR/602/17 | 92/17(p1) | 571509778 | 1 |
| 76. | AR/602/17 | 92/17(p2) | අංක පැහැදිලි නැත | 1 |
| 77. | AR/602/17 | 92/17(p3) | 69794882 | 1 |
| 78. | AR/602/17 | 92/17(p4) | 69309062 | 1 |
| 79. | AR/602/17 | 93/17(p1) | 69265729 | 1 |
| 80. | AR/602/17 | 93/17(p2) | SL6432379613 | 1 |
| 81. | AR/602/17 | 93/17(p3) | 69870125 | 1 |
| 82. | AR/602/17 | 93/17(p4) | අංක පැහැදිලි නැත | 1 |
| 83. | AR602/17 | 93/17(p5)*04 | අංක පැහැදිලි නැත | 1 |
| 84. | AR/457/17 | 168/17 | අංක පැහැදිලි නැත | 1 |
| 85. | AR/509/17 | 595/17 | අංක පැහැදිලි නැත | 1 |
| 86. | AR/510/17 | 603/17 | CN 2475 | 1 |

### අත් දුරකථන සහ බඩු විස්තර

| අනු. අංකය | නඩු. අංකය | නඩුභාණ්ඩ විස්තර | ප්‍රමාණය |
|---|---|---|---|
| 1. | AR/161/11 | අත් දුරකතනය | 1 |
| 2. | AR/784/14 | කැමරා | 1 |
| | | අම්බි | 1 |
| | | කුඩා පෙට්ටි | 2 |
| 3. | 40037 | සවල් | 1 |
| 4. | AR/103/10 | අත් දුරකතන | 1 |
| 5. | AR/305/10 | අත් දුරකතන | 1 |
| 6. | 23072 | අත් දුරකතන | 1 |
| 7. | 37670 | සවල් | 3 |
| 8. | 38107 | පලදුවුණු බෙලෙක් | 1 |
| 9. | 25738 | පරිගණක | 1 |
| | | අත් දුරකතන | 1 |
| 10. | 37633 | සවල් | 1 |
| 11. | 39114 | උදලු | 1 |
| 12. | 39204 | සවල් | 2 |
| 13. | AR/328/15 | අත් දුරකතන | 1 |
| 14. | AR/756/14 | පරිගනක මොනිටර් | 1 |
| | | කී බෝඩ් | 1 |
| | | පවර් පැක් | 1 |
| | | පළදුවුණ අත් දුරකතන | 1 |
| | | කැමරා | 1 |
| | | ඩිජිටල් කැමරා | 1 |
| 15. | AR/755/14 | බෙලෙක් කප්පන්න කතුරු | 1 |

| අනු. අංකය | නඩු. අංකය | නඩුභාණ්ඩ විස්තර | ප්‍රමාණය |
|---|---|---|---|
| 16. | 10395 | ඩීවීඩී ප්ලේයර් | 1 |
| | | කැමරා | 1 |
| 17. | AR/113/15 | අත් දුරකතන | 1 |
| 18. | AR/1137/15 | අත් දුරකතන | 1 |
| | | අත් දුරකතන | 1 |
| 19. | AR/714/16 | අත් දුරකතන | 1 |
| 20. | AR/58/17 | අත් දුරකතන | 1 |
| 21. | MC/1593/S/17 | අත් දුරකතන | 1 |
| 22. | MC/1200/S/16 | අත් දුරකතන | 1 |
| 23. | MC/1750/S/16 | අත් දුරකතන | 1 |
| 24. | MC/1560/S/16 | අත් දුරකතන | 1 |
| 25. | MC/875/S/16 | අත් දුරකතන | 1 |
| 26. | MC - 1266/S/16 | අත් දුරකතන | 1 |
| 27. | MC -716/S/16 | අත් දුරකතන | 1 |
| 28. | MC -475/S/16 | අත් දුරකතන | 1 |
| 29. | MC -1197/S/16 | අත් දුරකතන | 1 |
| 30. | AR/48/17 | අත් පොරව | 1 |
| 31. | MC -4693/MT/16 | ගෑස් සිලින්ඩර් | 1 |
| 32. | MC -2082/ PC/16 | බොරුව | 1 |
| 33. | MC -522/S/17 | සවල් | 1 |
| 34. | MC -3569/S/16 | සවල් | 4 |
| | | කඩු | 1 |
| | | පිතාසු | 1 |
| | | බොරුව | 1 |
| | | වෝල්ගන | 1 |
| | | මිටි (ජකන මිටි) | 1 |
| | | පොල්ගාන මැෂින් | 1 |
| | | ස්කුරුප්පුව | 1 |
| | | 24 " යතුර | 1 |
| | | 22" යතුර | 1 |
| | | 21" යතුර | 1 |
| | | 15" යතුර | 1 |
| | | 19" යතුර | 1 |
| 35. | AR 879/16 | 14" යතුර | 1 |
| | | 13" යතුර | 1 |
| | | 8" යතුර | 1 |
| | | යකඩ කපන යතුර | 1 |
| | | හතරැස් තට්ටු යතුර | 1 |
| | | 12" ස්පෙනර් | 1 |
| | | තනි මිටි | 1 |
| | | 10 X 3 උදැල්ල | 1 |
| | | සරනේරු | 1 |
| | | 100 පඩු | 2 |
| 36. | MC 4675/S/16 | සල්වාර් | 45 |
| | | අංක 01 සාරි | 17 |
| | | කොට්ටන් සාරි | 10 |
| | | සිල්ක් සාරි | 16 |
| 37. | AR/1431/16 | මඩත්තල් | 1 |
| | | අලවංගු | 1 |
| | | සවල් | 1 |
| 38. | AR/1381/16 | මිඩ්කාට් | 1 |
| 39. | AR/458/17 | කූලිං රෝල් | 1 |

01-752

# රජයේ නොවන දැන්වීම්

## ඇටෝර්නි බලය අවලංගු කිරීම

මඩකලපුව, අංක 21. භාරතී වීදියේ වෛරමුත්තු මන්ජුලාකුමාරී යන අයට බ්‍රාමිගාටිනටෙරස් 80 8003 සුරිච් සුවිස්සලැන්ඩ් පදිංචි රාමයියා රාගවන් වන මා සහකාර නොතාරිස් ඒ. ග්‍රසර් කේ. ටී. සුරිඩ් (DEPUTY NOTORY PUBLIC A. GOSSAUER ALTSTAD k t ZURICH) ඉදිරිපිට දී අත්සන් කරන ලද 2013.02.20 දිනැති මඩකලපුව නැගෙනහිර කොට්ඨාසය, රෙජිස්ට්‍රාර් ජෙනරාල් දෙපාර්තමේන්තුවේ 2016.06.06 දිනැති 334 වන අනු අංකයේ 24 වන පොතින් 84 වන ජේදයේ ලියාපදිංචි කර තිබූ විශේෂ ඇටෝර්නි බලය අවලංගු කරන බව ශ්‍රී ලංකා රජයට මෙන් ම මහජනතාවට ද මෙයින් දැනුම් දෙමි. මින් පසු ඉහත අයගේ කිසිම ක්‍රියාවකට මා වග කියන්නේ නැති බව ද වැඩිදුරටත් දැනුම් දෙමි.

රාමයියා රාගවන්.

01-600

## ඇටෝර්නි බලය අවලංගු කිරීම

මඩකලපුව, කල්ලඩි උප්පෝඩෙයි, ස්කන්ධවාසා යන ලිපිනයේ පදිංචි ක්‍රිෂ්ණපිල්ලෙයි සංගරලිංගම් යන අයට එක්සත් රාජධානියේ වෙට්පෝඩ් එම්කේ 43, ඔක්ලේ 27 චර්චිලේන් යන ලිපිනයේ අනෝපමා බාලසුබ්‍රමනියම් යන මා විසින් එක්සත් රාජධානියේ ලන්ඩන් E126BT, 720 රොම්පෝට් පාර යන ලිපිනයේ පදිංචි සොලිසිටර් සහ දිවුරුම් දූන් විධායක එම්. මාර්කන්ඩන් මහතා විසින් ලියා සහතික කරන ලද, 1998.02.21 වැනි දින දරන මඩකලපුව නැගෙනහිර කලාපයේ රෙජිස්ට්‍රාර් ජනරාල් දෙපාර්තමේන්තුවේ, 1998.03.11 දින අනු අංකය 26 යටතේ, 06 වන කාණ්ඩයේ 117 වන පිටුවේ ලියාපදිංචි කර ඇති සාමාන්‍ය ඇටෝර්නි බලය අවලංගු කරන බව ශ්‍රී ලංකා ආණ්ඩුවටත්, පොදු මහජනතාවටත් මෙයින් දැනුම් දී සිටිමි. මින් මතුවට මෙකී තැනැත්තා විසින් සිදු කරනු ලබන කිසිදු කටයුත්තක් වෙනුවෙන් මා හට කිසිත් වගකීමක් නැති බව ද මෙයින් වැඩිදුරටත් දන්වා සිටිමි.

අනෝපමා බාලසුබ්‍රමනියම්.

01-601

## ඇටෝර්නි බලය අවලංගු කිරීම

මඩකලපුව පණ්ඩිංස් පටුමග දනට අංක q 3 Rosebank Avanue Clayton, South Victoria 3169, Australia යන ස්ථානයේ පදිංචි වෛද්‍ය සරවණමුත්තු මහේන්දිරන් වන මම ශ්‍රී ලංකාවේ මඩකලපුව උෆරනි සෙල්වනායකම් පාර අංක 20 යන ලිපිනයේ පදිංචි රෙත්නම් මනෝහරන් යන අයට 2008.03.25 දින ඕස්ට්‍රේලියාවේ ප්‍රසිද්ධ නොතාරිස් ජෙයානන්දරාජා සදසිවම්පිල්ලෙයි මහතා විසින් ලියා සහතික කරනු ලැබ නැගෙනහිර පළාතේ, සහකාර රෙජිස්ට්‍රාර් කාර්යාලයේ 2008.04.24 වැනි දින අනු අංකය 108 යටතේ 16 වන කාණ්ඩයේ 16 වන පිටුවේ ලියාපදිංචි කර ඇති මාගේ අංකය 5346 දරන ප්‍රසිද්ධ නොතාරිස් එස්. සෙල්වනායගම් මහතා විසින් ලියා සහතික කරන ලද දේපළ අධීක්ෂණය කිරීමටත් රැකබලා ගැනීමටත් නීතිමාර්ගයෙන් කටයුතු කිරීමටත් ලබා දෙන ලද බලතල ආදියත් 2018.01.05 වැනි දින සිට නීත්‍යානුකූලවත් බල සහිතවත් මම බාර ගන්නෙමි.

2018.01.05

01-602

---

## දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ කරනු ලබන දැන්වීමයි.

සමාගමේ නම : නිව් කැන්ඩියන් හිල්ස් (පුද්ගලික) සමාගම
ලියාපදිංචි අංකය : පී වී 127298
ලියාපදිංචි දිනය : 2017 නොවැම්බර් 15
ලිපිනය : අංක 11, ටොරින්ටන් පටුමග, මහනුවර.

ලේකම්.

01-619

---

## ඇටෝර්නි බලපත්‍රය අවලංගු කිරීම

ගාල්ල, කළුවැල්ල, හිරගෙදර පාරේ අංක 11 හි පදිංචි, කමල් විජය කුමාර් රණසිංහ වන මම ගාල්ල දිස්ත්‍රික්කයේ, ප්‍රසිද්ධ නොතාරිස් දුලාරි හර්ෂිකා වෙල්ලප්පිලි මහත්මිය විසින් වර්ෂ 2012 ක් වූ ජුනි මස 19 වැනි දින ලියා සහතික කරන ලද අංක 461 දරන ඇටෝර්නි බලපත්‍රය මගින් මාගේ ඇටෝර්නි බලකරු ලෙස, ගාල්ල, කළුවැල්ල, හිරගෙදර පාරේ අංක 11 හි පදිංචි රවීන්ද්‍ර සුරේෂ් කුමාර් රණසිංහ යන අය පත් කිරීම වර්ෂ 2018 ක් වූ ජනවාරි මස 15 වැනි දින සිට නීත්‍යානුකූලව අවලංගු කරන බව මෙයින් සියලු දෙනාගේ ම දැන ගැනීම පිණිස නිවේදනය කරනු ලැබේ.

01-625

## දැන්වීමයි

2007 අංක 07 සඳහන් සමාගම් ආඥා පනත ප්‍රකාරව පහත සඳහන් සමාගම 2010 දෙසැම්බර් මස 14 වැනි දින ලියාපදිංචි කර ඇත.

සමාගමේ නම : වෙල්මේජ් රිස්ක් සොලුෂන්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්
ලියාපදිංචි අංකය : පී වී 75927
ලියාපදිංචි ලිපිනය : අංක 101, විනයාලංකාර මාවත, කොළඹ 10.

සමාගම් ලේකම්.

01-634

---

## ඇටෝර්නි බලය අවලංගු කිරීම

මහරගම, පමුණුව, පතිරගොඩ පාර අංක 62 දරන ස්ථානයේ පදිංචි ප්‍රේම්සර සාරානාත් (ශු. ග. බ. එන්. 9552345) වන මා මහරගම පමුණුව පතිරගොඩ පාර අංක 62 දරන ස්ථානයේ පදිංචි හඳුන්නෙත්ති රන්නුලු සාගාරිකා ප්‍රේම්සර (ජා. හැ. අංක 647700780 වී) වෙත පවරන ලද ප්‍රසිද්ධ නොතාරිස් පී. සී. යූ, ඒකනායක මහත්මිය විසින් ලියා සහතික කරන ලද අංක 453 සහ වර්ෂ 2017ක් වූ පෙබරවාරි 16 දිනත් දරන ඇටර්නි බලපත්‍රය අවලංගු කොට ප්‍රත්‍යාදිෂ්ට කරන බවට ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයටත් මහජනතාවටත් මෙයින් දැනුම් දෙමි. මින් ඉදිරියට එකී මා වෙනුවෙන් මාගේ ඇටර්නි බලකරු විසින් මා වෙනුවෙන් කරනු ලබන කිසිදු ගනුදෙනුවකට මා වග නොකියන බව ද මින් දන්වා සිටිමි.

01-637

---

## ඇටෝර්නි බලපත්‍රය අවලංගු කිරීම

ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ, සබරගමුව පළාතේ, කෑගල්ල දිස්ත්‍රික්කයේ මාවනැල්ල, කරපනේ, කුරුන්ලේගෙදර හි පදිංචි අරුල්ප්‍රගාශන් ජේසුදසන් නොහොත් අරුල්ප්‍රගාසම් ජේසුදසන් (වැ. හැ. අ. MWN 44/4/10/2080) වන මා විසින් නීතිඥ හා ප්‍රසිද්ධ නොතාරිස් ජේ. ඒ. මැල්කම් මවාඩෝ මහතා විසින් ලියා සහතික කළ අංක 1077 හා 2011.06.01 දරන ඇටෝර්නි බලපත්‍රය මගින් කෑගල්ල, හෙට්ටිමුල්ල, ගොඩගන්තැන්න, තලේවෙල හි පදිංචි හෙට්ටිආරච්චිල්ලාගේ උදය ජයවීර (ජා. හැ. අ. 832701874 වී) යන අයට පවරන ලදී.

වර්ෂ 2018 ක්වූ ජනවාරි මස 09 වැනි දින සිට බලපැවැත්වෙන පරිදි මෙයින් ප්‍රත්‍යාදිෂ්ඨ කොට අහෝසි කොට අවලංගු කරනු ලැබේ.

තවද, එකී ඇටෝර්නි බලකරු වන හෙට්ටිආරච්චිල්ලාගේ උදය ජයවීර යන අය විසින් මින් ඉදිරියට මගේ ඇටෝර්නි බලකරු

වශයෙන් සිදු කරනු ලබන කිසිම කටයුත්තකට මා විසින් වගකියනු නොලැබේ.

අරුල්ප්‍රගාශන් ජේසුදසන් නොහොත්
අරුල්ප්‍රගාසම් ජේසුදසන්,
ඇටෝර්නි අධිපති.

01-644

---

## සමාගමක් සංස්ථාගත කිරීම පිළිබඳව ප්‍රසිද්ධ දැන්වීම

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ 2017.12.26 වැනි දින පහත සඳහන් සමාගම සංස්ථාගත කිරීම පිළිබඳ දැන්වීමයි.

සමාගමේ නම : බ්‍රේබෲක් රෙසිඩෙන්ෂල් ටවර්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගමේ ලියාපදිංචි අංකය : පී වී 128387
සංස්ථාගත කළ දිනය : 2017.12.26
සමාගමේ ලියාපදිංචි කාර්යාලය : අංක 117, සර් චිත්තම්පලම් ඒ ගාඩිනර් මාවත, කොළඹ 02

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

කීල්ස් කන්සල්ටන්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්,
සමාගමේ ලේකම්වරු.

2018.01.05

01-646

---

## ඇටෝර්නි බලපත්‍රය අවලංගු කිරීම

ශ්‍රී ලංකා ජනරජයේ මධ්‍යම පළාතේ, මහනුවර දිස්ත්‍රික්කයේ, පේරාදෙණිය, උඩ පේරාදෙණිය, ඔගස්ටාවත්ත, අංක 149/බී දරන ස්ථානයේ පදිංචිව සිට දැනට මහනුවර, පිටකන්ද පාර, මහායාය අංක 125 හි පදිංචි මානෙල් ජයවික්‍රම විජේතුංග (ජා. හැ. අ. 585482820 වී) වන මා විසින් මාතර, තෙලිජ්ජවිල, ඇල්ගිරිය, උඩකුඹුර වත්ත පදිංචි පිටිදුව ගමගේ ගුණසේන නමැති අයට ප්‍රදානය කරන ලද, එම්. ජී. අබේරත්න බණ්ඩාර ප්‍රසිද්ධ නොතාරිස් මහතා විසින් ලියා සහතික කරන ලද වර්ෂ 2007ක් වූ සැප්තැම්බර් මස 04 වැනි දිනැති අංක 14310 දරන විශේෂ ඇටර්නි බලපත්‍රය වර්ෂ 2018ක් වූ ජනවාරි මස 07 වැනි දින අවලංගු කර ඇති බව මහජනතාවට සහ ශ්‍රී ලංකා ජනරජයට මෙයින් දැනුම දෙමි. තවද, දිනයෙන් පසුව මේ සම්බන්ධයෙන් යම් ක්‍රියාවක් කර ඇත්නම් එයට මා වග නොකියන බව දන්වමි.

මානෙල් ජයවික්‍රම විජේතුංග,
(ජා. හැ. අ. 585482820 වී)

01-648

## විශේෂ ඇටෝර්නි බලය අවලංගු කිරීම

ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ මහජනතාවට සහ පොදු ජනතාව වෙත කෙරෙන නිවේදනය නම්, කුරුණෑගල මරළුවාව හි පදිංචි මදාරා නයනකාන්ති වීරකෝන් වන මා විසින් ප්‍රසිද්ධ නොතාරිස් හසිනී කුමාරසිංහ මහත්මිය විසින් 2016 මැයි මස 11 වැනි දින ලියා සහතික කරන ලද අංක 61 දරන විශේෂ ඇටෝර්නි බලපත්‍රයෙන් මාගේ ඇටෝර්නි බලකරු ලෙස මාලබේ, පොතුඅරාව පාර, අංක 1095/4 හි පදිංචි වික්‍රමසිංහ රාජකරුණා මුදියන්සේලාගේ දීප්ති ටිකිරි කුමාරි බලල්ලේ යන (ජාතික හැඳුනුම්පත් අංක 668232108 වී) අයව පත්කරන ලදී. ඉහත අංක 61 දරන විශේෂ ඇටෝර්නි බලපත්‍රය මදාරා නයනකාන්ති වීරකෝන් වන මා මෙතැන් පටන් අවලංගු කරන බවත්, එය මින් ඉදිරියට බල රහිත ඇටෝර්නි බලපත්‍රයක් බවට මෙයින් ප්‍රකාශ කර සිටිමි.

මදාරා නයනකාන්ති වීරකෝන්.

01-656

---

## නිවේදනයයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 වැනි ඡේදයට අනුව 2008 මාර්තු 19 වැනි දින ඉමේජ් බිලයින්ඩ් (ප්‍රයිවට්) ලිමිටඩ් ලියාපදිංචි කරන බව මෙයින් දන්වමි.

සමාගමේ නම : ඉමේජ් බිලයින්ඩ්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගමේ අංකය : පී වී 63508
ලියාපදිංචි කළ දිනය : 2008 මාර්තු 19 වැනි දින
ලියාපදිංචි කාර්යාලය : අංක 459/7ඒ, බන්ට් පාර, දුටුගැමුණු පාර, තලංගම උතුර, බත්තරමුල්ල.

ජී. ඩබ්. ඩී. එස්. ඒ. කේ. ගුණරත්න,
අධ්‍යක්ෂ.

01-676

---

## දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ පහත සඳහන් සමාගම සංස්ථාගත කරන ලදී.

සමාගමේ නම : කැපිටල් වන් කන්ස්ට්‍රක්ෂන් (පීවීටී) එල්ටීඩී
සමාගම් ලියාපදිංචි අංකය : පී වී 126780
ලියාපදිංචි ලිපිනය : අංක 106 3ඒ 1/1, ගාල්ල පාර, ගල්කිස්ස.

වී. කමාල් අහමඩ්,
සමාගම් ලේකම්.

01-682

### ඇටර්නි බලය අවලංගු කිරීම

ශ්‍රී ලංකාවේ වයඹ පළාතේ කුරුණෑගල දිස්ත්‍රික්කයේ දඹදෙණිය තැපැල් වැත්තෑව හි පදිංචි කරුණා ජේඩිගේ චරිත් කාවින්ද සිරිමාන්න ජා. හැ. අ. 821352703 V වන මා විසින් මා වෙනුවෙන් ක්‍රියා කිරීමට වයික්කාල තැපැල්, කම්මල දකුණ, අංක 48 දරන ස්ථානයෙහි පදිංචි මාරියා ගීතිකා සෙව්වන්දි පීරිස් ජා. හැ. අ. 875640143 V යන අය වෙත ප්‍රදානය කරන ලද මීගමුව ප්‍රසිද්ධ නොතාරිස් ෆිලීෂියන් ප්‍රනාන්දුපුල්ලේ විසින් ලියා සහතික කරන ලද 2013 ක් වූ ජනවාරි මස 02 වැනි දින හා අංක 17981 දරන විශේෂ ඇටර්නි බලපත්‍රය මෙයින් ප්‍රත්‍යාදිෂ්ඨ කොට අහෝසි කොට අවලංගු කරන ලද බවත්, එකී මාරියා ගීතිකා සෙව්වන්දි පීරිස් විසින් මා වෙනුවෙන් කටයුතු කිරීම නවතනු ලබන බවත්, මෙදින සිට කරනු ලබන කවර හෝ ක්‍රියාවකට මා වගකීම් නොදරන බවත්, ශ්‍රී ලංකා ජනරජයේ ආණ්ඩුවටත්, මහජනතාවටත් මෙයින් දන්වා සිටිමි.

කේ. පී. චරිත් කාවින්ද සිරිමාන්න.

2018.01.04

01-683

---

### සමාගම් නාමය වෙනස් කිරීම පිළිබඳ ප්‍රසිද්ධ දැන්වීම

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (2) වගන්තිය ප්‍රකාරව පහත සඳහන් සමාගමේ නාමය (8 වැනි වගන්තිය ප්‍රකාරව) 2015 ජනවාරි මස 30 වැනි ද සිට ක්‍රියාත්මක වන පරිදි වෙනස් කරන ලද බව මෙසේ නිවේදනය කරනු ලැබේ.

පෙර සමාගමේ නාමය : ඕ. ජේ. ලංකා ආයුර්වේද හෙල්ත් රිසෝට් (පීවීටී) එල්ටීඩී
සමාගම් අංකය : පී වී 96697
ලිපිනය : කාලවිල, බේරුවල
නව සමාගම් නාමය : ඕ. ජේ. ලංකා ප්‍රොපටීස් (පීවීටී) එල්ටීඩී

චාට් බිස්නස් සිස්ටම්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්,
සමාගම් ලේකම්වරු.

අංක 141/3, වොක්ෂෝල් වීදිය,
කොළඹ 02.

01-693

---

### සංස්ථාගත කිරීමක් පිළිබඳ ප්‍රසිද්ධ දැන්වීම

(2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය අනුගාමීව)

සමාගමේ නාමය : විස්මිත මැරීන් එන්ටර්ප්‍රයිසස් (ප්‍රයිවට්) ලිමිටඩ්
ලියාපදිංචි අංකය : පී වී 128490
ලියාපදිංචි ලිපිනය : අංක 86, හෙරිටේජ් සිටි, මගුරුවිල පාර, ගෝණවල, කැලණිය.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

එච්. ටී. පී. බිස්නස් සර්විසස් (ප්‍රයිවට්) ලිමිටඩ්,
ලේකම්වරු.

01-704

---

### විශේෂ ඇටෝර්නි බලපත්‍රය අවලංගු කිරීමේ දැන්වීම

ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ මධ්‍යම පළාතේ, මාතලේ දිස්ත්‍රික්කයේ, තාරලන්ද පාර, අංක 29/ඒ, යන ස්ථානයේ පදිංචි මොහොමඩ් නිසාර් ෆයිසා ෆර්වින් (ජා. හැ. පත් අංකය 857504011 V) වන මා විසින් මාතලේ නීතිඥ සහ ප්‍රසිද්ධ නොතාරිස් ඒ. එච්. දවුද් මොහිදීන් මහත්මයා විසින් ලියා සහතික කරන ලද අංක 1112 දරන වර්ෂ 2010.11.24 වැනි දිනැති විශේෂ ඇටෝර්නි බලපත්‍රය මගින් මඩවල බසාර්, වත්තේගම පාර, අංක 118 දරන ලිපිනයේ පදිංචි මොහොමඩ් හනීෆා මොහොමඩ් ලාරි (ජා. හැ. පත් අංකය 790901495 V) යන අය වෙත බලය පවරන ලද විශේෂ ඇටෝර්නි බලපත්‍රය වර්ෂ 2018 ක් වූ ජනවාරි මස 09 වැනි දින සිට බල පැවැත්වෙන පරිදි අවලංගු කරන බවට ශ්‍රී ලංකා රජයටත් මහජනතාවටත් මින් දැනුම් දෙනු ලැබේ. එදින පටන් එකී විශේෂ ඇටෝර්නි බලපත්‍රය මගින් කරනු ලබන කිසිදු ක්‍රියාවකට මා විසින් වග නොකියන බවට ද තවදුරටත් ප්‍රකාශ කර සිටිමි.

මොහොමඩ් නිසාර් ෆයිසා ෆර්වින්.

අංක 29/ඒ, තාරලන්ද පාර,
මාතලේ.

01-720

---

### විශේෂ ඇටෝර්නි බලපත්‍රය අවලංගු කිරීමේ දැන්වීම

ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ මධ්‍යම පළාතේ, මාතලේ දිස්ත්‍රික්කයේ, මාතලේ අගලවත්ත පාර, අංක 42 දරන ස්ථානයේ පදිංචි නාගසූරිය කුමාර පටබැඳිගේ ලෙස්ලි පෙරේරා (ජා. හැ. අං. 491740426 V) වන මා විසින් මාතලේ නීතිඥ සහ ප්‍රසිද්ධ නොතාරිස් රුවන් පුරිජ්ජල විසින් ලියා සහතික කරන ලද අංක 1672 දරන වර්ෂ 2017 ජනවාරි මස 03 වැනි දිනැති විශේෂ ඇටෝර්නි බලපත්‍රය මගින් මාතලේ විහාර පාර, අංක 50 දරන ස්ථානයේ පදිංචි නාගසූරිය කුමාර පටබැඳිගේ අනුෂ්කා ප්‍රසිලා පෙරේරා (ජා. හැ. අං. 198152702366V) වෙත බලය පවරන ලද විශේෂ ඇටෝර්නි බලපත්‍රය වර්ෂ 2018 ක්වූ ජනවාරි මස 09 වැනි දින සිට බලපැවැත්වෙන පරිදි අවලංගු කරන බවට ශ්‍රී ලංකා රජයටත් මහජනතාවටත් මින් දැනුම් දෙනු ලැබේ. එදින පටන් එකී විශේෂ ඇටෝර්නි බලපත්‍රය මගින් කරනු ලබන කිසිදු ක්‍රියාවකට මා විසින් වග නොකියන බව ද තවදුරටත් ප්‍රකාශ කර සිටිමි.

නාගසූරිය කුමාර පටබැඳිගේ ලෙස්ලි පෙරේරා.

අංක 42, අගලවත්ත පාර,
මාතලේ.
01-722

## දැන්වීමයි

2007 අංක 7 දරන සමාගම් පනතෙහි 9(1) වන වගන්තිය ප්‍රකාරව කෙරෙන දැන්වීමයි.

නම : ඉන්ටර්නැෂනල් වික්ටෝරියා එක්ස්පෝර්ට් ඇන්ඩ් ඉම්පෝර්ට් (පෞද්ගලික) සමාගම
ලිපිනය : අංක 82, 6/2, ඩබ්ලිව්. ඒ. සිල්වා මාවත, කොළඹ 06
සංස්ථාපනය කළ දිනය : 2017.12.15
සංස්ථාපිත අංකය : පී වී 128123

කේ. ඒ. කේ. ටී. පෙරේරා,
සමාගමේ ලේකම්.

අංක 240/ඒ/5, ගල්කඩේ හන්දිය,
වැල්මිල්ල,
බණ්ඩාරගම.

01-726

## දැන්වීමයි

2007 අංක 7 දරන සමාගම් පනතෙහි 9(1) වන වගන්තිය ප්‍රකාරව කෙරෙන දැන්වීමයි.

නම : ඉන්ටර්නැෂනල් වික්ටෝරියා ප්ලාන්ටේෂන් (පෞද්ගලික) සමාගම
ලිපිනය : අංක 82, 6/2, ඩබ්ලිව්. ඒ. සිල්වා මාවත, කොළඹ 06
සංස්ථාපනය කළ දිනය : 2017.12.19
සංස්ථාපිත අංකය : පී වී 128153

කේ. ඒ. කේ. ටී. පෙරේරා,
සමාගමේ ලේකම්.

අංක 240/ඒ/5, ගල්කඩේ හන්දිය,
වැල්මිල්ල,
බණ්ඩාරගම.

01-727

## නිවේදනයයි

ලියාපදිංචි අංක පී වී 128194 හිමි සිය ලියාපදිංචි කාර්යාලය, මහනුවර, ලේඩි ගෝඩන්ස් ඩ්‍රයිව් හි 15/ඒ හි පිහිටි සිලෝන් පැරාමෝටර්ස් (ප්‍රයිවට්) ලිමිටඩ් 2017 දෙසැම්බර් මස 18 වැනි දින සංස්ථාපනය කරන ලද බව 2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය ප්‍රකාර මෙයින් නිවේදනය කරනු ලැබේ.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

ලේකම්.

01-728

## ප්‍රසිද්ධ දැන්වීමයි

2007 අංක 7 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය යටතේ කරනු ලබන දැන්වීමයි.

සමාගමේ නම : මැන්ගෝෆ්‍රෙන්ඩ්ස් පපට් ප්‍රොඩක්ෂන්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්
ලියාපදිංචි ලිපිනය : අංක 26/1, පොකුණ පාර, වතුගෙදර, අම්බලන්ගොඩ
සංස්ථාගත කළ දිනය : 2017 නොවැම්බර් 27
ලියාපදිංචි අංකය : පී වී 127384

ලේකම්.

01-729

## ප්‍රසිද්ධ නිවේදනයයි

2007 අංක 7 දරන සමාගම් පනතේ 9 වන වගන්තිය අනුව කරනු ලබන නිවේදනයයි.

සමාගමේ නම : ස්ට්‍රයිප්ස් ඇන්ඩ් චෙක්ස් (ප්‍රයිවට්) ලිමිටඩ්
ලියාපදිංචි අංකය : පී වී 128049
ලියාපදිංචි කාර්යාලය : අංක 19/4, ස්වර්ණ පාර, කොළඹ 06
සංස්ථාගත කළ දිනය : 2017 දෙසැම්බර් 13.

සමාගමේ ලේකම්වරු.

01-748

## ඇටර්නි බලපත්‍රය ප්‍රත්‍යාදිෂ්ඨ කිරීම

නාත්තන්ඩිය, වීරහේන පදිංචි සේමසිංහ හෙට්ටිබණ්ඩාර මුදියන්සේලාගේ කපිල ඉන්ද්‍රජිත් බණ්ඩාර සේමසිංහ වන මා විසින් එම්. වර්ණපාල කවුන්සල්වරයා විසින් සහතික කරන ලද පද්මා ශ්‍රියාලතා සේමසිංහ (ජා. හැ. අංක 466682519 V) යන අය වෙත ප්‍රදානය කරන ලද 2017.03.08 දිනැති විශේෂ ඇටර්නි බලපත්‍රය අවලංගු කොට ප්‍රත්‍යාදිෂ්ඨ කළ බව, ශ්‍රී ලංකා රජයටත් මහජනතාවටත් මෙයින් දැනුම් දෙනු ලැබේ.

මෙම බලපත්‍රය කුරුණෑගල සහකාර රෙජිස්ට්‍රාර් ජෙනරාල් කාර්යාලයේ 1297 දින පොත් අංකයේ 106 කාණ්ඩයේ 8489 පත්‍රිරුවේ ලියාපදිංචි වී ඇත.

සේමසිංහ හෙට්ටිබණ්ඩාර මුදියන්සේලාගේ
කපිල ඉන්ද්‍රජිත් බණ්ඩාර සේමසිංහ,
විදේශ ගමන් බලපත්‍ර අංක එන් 2020605

වීරහේන,
නාත්තන්ඩිය.

01 -755

## ප්‍රසිද්ධ දැන්වීමයි

2007 අංක 7 දරන සමාගම් පනතේ 242(1) වගන්තිය ප්‍රකාර ඒකාබද්ධ කිරීම

2017 අංක 07 දරන සමාගම් පනතේ 242(1) වගන්තිය ප්‍රකාර, කාශ්‍යප කැපිටල් (ප්‍රයිවට්) ලිමිටඩ් පී වී 87812 එා රෙනෙයිසන්ස් කැපිටල් (ප්‍රයිවට්) ලිමිටඩ් - පී වී 114306 හා අධ්‍යක්ෂ මණ්ඩල විසින් ''කාශ්‍යප'' ''රෙනෙයිසන්ස්'' සමග ඒකාබද්ධ කළ යුතු බවට යෝජනා සම්මත කොට ගත් බව මෙයින් දැනුම් දෙනු ලැබේ. මෙම ඒකාබද්ධ කිරීමේ කොන්දේසි අනුව ''රෙනෙයිසන්ස්'' කොටස් කිසිදු ගෙවීමක් හෝ වෙනත් සළකා බැලීමකින් තොරව අවලංගු කනු ලබන අතර ''රෙනෙයිසන්ස්'' හි සියලු වත්කම් සහ වගකීම් ''කාශ්‍යප'' විසින් අත්පත් කර ගනු ඇත. ''අඛන්ඩ පවත්වාගෙන යන සමාගම ''කාශ්‍යප'' වනු ඇත. ''කාශ්‍යප'' හි වත්මන් අධ්‍යක්ෂ මණ්ඩලය, මෙම ඒකාබද්ධ කිරීමෙන් පසුව ඒකාබද්ධ සමාගමේ අධ්‍යක්ෂවරුන් ලෙස සිටිනු ඇත.

සමාගම් දෙකෙහි ම අධ්‍යක්ෂවරුන්, යෝජිත ඒකාබද්ධ කිරීම සමාගම් දෙකෙහිම හොඳම යහපත උදෙසා වන බවත් අදහස් කරන අතර, ඒකාබද්ධ වීම හා වහාම ඒකාබද්ධ කළ ''කාශ්‍යප'' එලදයී නුබුන්වත් පරීක්ෂණයට තෘප්තිමත් බවට පත්වන බව ද පිළිගනී.

ඒකාබද්ධ කිරීම 2018 පෙබරවාරි මස 06 වැනි දින සිට හෝ සමාගම් රෙජිස්ට්‍රාර් ජනරාල් විසින් තීරණය කරනු ලබන වෙනත් දිනයක දී ක්‍රියාත්මක ඇත.

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

ආර්. ටී. සෙනෙවිරත්න මහත්මිය,
කාශ්‍යප කැපිටල් (ප්‍රයිවට්) ලිමිටඩ් සහ
රෙනෙයිසන්ස් කැපිටල් (ප්‍රයිවට්) ලිමිටඩ්
සඳහා ලේකම්.

2018 ජනවාරි මස 08 වැනි දින.

01-756

---

## නිවේදනය

2007 අංක 07 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය ප්‍රකාර පහත සඳහන් සමාගම සංස්ථාපිත කළ බව මෙයින් නිවේදනය කර සිටිමු.

සමාගමේ නම : ඩී පී එල් රිටේල් (ප්‍රයිවට්) ලිමිටඩ්
සමාගමේ ලියාපදිංචි අංකය : පීවී 127013
ලියාපදිංචි කාර්යාලය : අංක 184, දිවුල්ගස්ලන්ද, කැලණිය
සංස්ථාගත කළ දිනය : 2017.11.07

01-764

## වගකීමෙන් සීමිත සමාගමක් සංස්ථාගත කිරීම පිළිබඳ ප්‍රසිද්ධ නිවේදනයයි

2007 අංක 7 දරන සමාගම් පනතේ 9 (1) වගන්තිය ප්‍රකාරව පහත සඳහන් සමාගම සංස්ථාගත කිරීම පිළිබඳ අප විසින් මෙයින් නිවේදනය කරනු ලැබේ.

සමාගමේ නම : කලවාන ටී එස්ටේට් (පීවීටී) එල්ටීඩී
සමාගමේ අංකය : පී වී 128477
ලියාපදිංචි කළ දිනය : 2017 දෙසැම්බර් 27 වැනි දින
ලියාපදිංචි කාර්යාලයේ ලිපිනය : අංක 3, ස්වර්ණ පෙදෙස, නාවල පාර, රාජගිරිය.

කලවාන ටී එස්ටේට් (පීවීටී) එල්ටීඩී සඳහා සහ වෙනුවෙන්,

පී ඩබ්ලිව් කෝපරේට් සෙක්‍රටේරියල් (පීවීටී) එල්ටීඩී,
සමාගම් ලේකම්වරුන්.

2018 ජනවාරි මස 12 වැනි දින.

01-779

---

## ඇටර්නි බලපත්‍රය අවලංගු කිරීම

අංක 96, විජේරාම මාවත, කොළඹ 07 හි පදිංචි පත්මි ප්‍රියංගනී රණවීර (ජා. හැ. අංක 605192157 වී) වන මම ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයටත් එහි ජනතාවටත් මින් දැනුම් දෙන වගනම්,

මා විසින් මාගේ නීත්‍යානුකුල ඇටර්නි බලකරු වශයෙන් අළුත්ගේ යසස් ශ්‍රී ධනුෂ්ක පෙරේරා (ජා. හැ. අංක 880983270 වී යන අය පත් කරමින් දෙන ලද අංක 11 සහ 2012.06.07 දිනැති සේනක බී. උලන්දුපිටිය නීතිඥ සහ ප්‍රසිද්ධ නොතාරිස් ලියා සහතික කරන ලද ඇටර්නි බලපත්‍ර පොතේ 97 කාණ්ඩයේ 74 පත්‍රිරුවේ 4033 දින පොතේ අංකය යටතේ 2012.06.13 දින දී දෙල්කඳ, නුගේගොඩ, රෙජිස්ට්‍රාර් ජෙනරාල් දෙපාර්තමේන්තුවේ බස්නාහිර කලාප කාර්යාලයේ ලියාපදිංචිව ඇති ඇටර්නි බලපත්‍රය මින් අවලංගු කරන බවත්, මින් ඉදිරියට එහි බලපැවැත්මක් නොමැති බවත් ය.

පත්මි ප්‍රියංගනී රණවීර.

2018 ජනවාරි මස 10 වැනි දින.

01-784

---

## ප්‍රසිද්ධ දැන්වීමයි

2007 අංක 07 දරන සමාගම් පනතේ 242 (1) වගන්තිය ප්‍රකාර ඒකාබද්ධ කිරීම

2017 අංක 07 දරන සමාගම් පනතේ 242 (1) වගන්තිය ප්‍රකාර රාහුල් කැපිටල් (ප්‍රයිවට්) ලිමිටඩ් ''රාහුල්'' (පීවී 86389) සහ

සමග කොමර්ෂල් ට්‍රස්ට් ටෙක්නොලොජිස් (ප්‍රයිවට්) ලිමිටඩ් ''කොමර්ෂල් ට්‍රස්ට්'' (පීවී 91520) ඒකාබද්දවී ඇති බවට රාහුල් කැපිටල් (ප්‍රයිවට්) ලිමිටඩ් (පීවී 86389) සහ කොමර්ෂල් ට්‍රස්ට් ටෙක්නොලොජිස් (ප්‍රයිවට්) ලිමිටඩ් (පීවී 91520) ඒකාබද්ධ වී ඇති බවට රාහුල් කැපිටල් (ප්‍රයිවට්) ලිමිටඩ් (පීවී 86389) සහ කොමර්ෂල් ට්‍රස්ට් ටෙක්නොලොජිස්ට් (ප්‍රයිවට්) ලිමිටඩ් (පීවී 91520) හි අධ්‍යක්ෂ මණ්ඩල විසින් යෝජනා සම්මත කර ඇති අතර, මේ ඒකාබද්ධ වීමට අනුකූලව සියලුම ''කොමර්ෂල් ට්‍රස්ට්'' හි කොටස් ගෙවීමකින් හෝ වෙනයම් සලකා බැලීමෙන් තොරව අවලංගු වන අතර ''රාහුල්'' විසින් ''කොමර්ෂල් ට්‍රස්ට්'' හි සියලු වත්කම් හා බැරකම් (වගකීම්) පවරා ගනු ලබන අතර, අඛන්ඩව පවත්වාගෙන යන සමාගම් ''රාහුල්'' වනු ඇත. ''රාහුල්'' හි වර්තමාන අධ්‍යක්ෂකවරුන් ඒකාබද්ධ කරනු ලැබීමෙන් පසු ඒකාබද්ධ කළ සමාගමේ අධ්‍යක්ෂවරුන් වශයෙන් අඛණ්ඩව සිටිනු ඇත.

සමාගම්වල අධ්‍යක්ෂක මණ්ඩලවල අදහස් ලෙස මෙම යෝජිත ඒකාබද්ධ කිරීම, සමාගම් දෙකේ ම උපරිම අභිවෘද්ධිය සඳහා වනු බව පවතින අතර, ඒකාබද්ධ කළ සමාගම, ''රාහුල්'' ඒකාබද්ධයෙන් පසු ඒ වහාම ඵලදායි ලෙස සාර්ථකවන බව හා නුබුන්වත් පරික්ෂණය තෘප්ත කරනු ඇති බවට සතුටු වෙති.

ඒකාබද්ධ කිරීම 2018 පෙබරවාරි මස 06 වැනි දින සිට හෝ සමාගම් රෙජිස්ට්‍රාර් ජනරාල්වරයා විසින් තීරණය කරනු ලබන වෙතින් දිනයක සිට බලපවත්වනු ඇත.

අධ්‍යක්ෂක මණ්ඩලයේ අණ පරිදි,

ආර්. ටී. සෙනෙවිරත්න,
ලේකම්.

රාහුල් කැපිටල් (ප්‍රයිවට්) ලිමිටඩ්,
සහ කොමර්ෂල් ට්‍රස්ට් ටෙක්නොලොජිස් (ප්‍රයිවට්) ලිමිටඩ් සඳහා

2018 ජනවාරි මස 08 වැනි දින.

01-757

---

# වෙන්දේසි කිරීම් පිළිබඳ දැන්වීම්

## සම්පත් බැංකුව පිඑල්සී
(සීමාසහිත සම්පත් බැංකුව නමින් කලින් හැඳින්වූ)

1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදනය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 09 වැනි වගන්තිය යටතේ කරනු ලබන විකුණුම් නිවේදනයයි.

එන් ඇන්ඩ් එන්. ට්‍රේඩ් සෙන්ටර්
ගිණුම් අංක : 0008 1000 8970

1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදනය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 09 වැනි වගන්තිය යටතේ ලැබී ඇති බලතල ප්‍රකාර 2015 මාර්තු මස 26 වැනි දින සම්පත් බැංකුව පීඑල්සී අධ්‍යක්ෂ මණ්ඩලය විසින් සම්මත කරන ගන්නා ලද යෝජනා සම්මුතියට අනුව රුපියල් පනස් නම ලක්ෂ හැත්තෑ පන් දහස් හාරසිය අනූ දෙකයි ශත හැට පහක (රු. 5,975,492.65) මුදල ද, 2015 ජනවාරි 29 දින සිට අයවිය යුතු මුළු මුදල පියවනු ලබන දිනය තෙක්, රුපියල් තිස් හතර ලක්ෂ පහළොස් දහස් හතලිස් නමයයි ශත තිස් හයක (රු. 3,415,049.36) මුදලක් සඳහා වාර්ෂිකව සියයට දහ අටක් (18%) හා තවත් රුපියල් විසි ලක්ෂයක (රු. 2,000,000) මුදලක් සඳහා වාර්ෂිකව සියයට දහසයක් (16%) බැගින් වූ පොලිය ද, දැන්වීම් ගාස්තු ද, ප්‍රචාරණ වියදම් ද, දරන්නට සිදු වූ වෙනත් ගාස්තු ද, තදනන්තරව දරන්නට සිදු වූ යම් මුදලක් වෙතොත් ඒවා අඩු කොට අයකර ගැනීම සඳහා මෙහි උපලේඛනයේ සඳහන් දේපළ සහ පරිශ්‍රයන් 2016.06.03 වැනි දින රජයේ ගැසට් පත්‍රයේ 2016.05.27 වැනි දින ''දිවයින'' සහ ''තිනකුරල්'' සහ ''අයිලන්ඩ්'' දිනපතා ප්‍රවෘත්ති පත්‍රවල පළකොට ඇති පරිදි 2018.02.27 වැනි දින පෙ. ව. 10.30 ට පිහිටි ස්ථානයේ දී මහනුවර බලයලත් වෙන්දේසිකරුවන් වන අයි. ඩබ්ලිව්. ජයසූරිය යන අය විසින් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකුණනු ලබන බව මෙයින් දනුම් දෙනු ලැබේ.

උපලේඛනය

1. බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ සියනෑ කෝරළේ මැද පත්තුවේ, ගම්පහ ප්‍රාදේශීය සභා සීමාවන් තුළ අලුත්ගම ග්‍රාමයේ පිහිටි ''වර්තමානයේ ගිනැන්ස් කම්පැණිවත්ත යනුවෙන් හඳුන්වන වලව්වත්ත'' යයි කියනු ලබන ඉඩමට බලයලත් මානක තැන අයි. එම්. සී. ප්‍රනාන්දු යන අය විසින් සාදන ලද 1991 මාර්තු 14 දතම හා අංක 943 දරන පිඹුරේ නිරූපිත සීමා නිර්ණය කොට බෙදවෙන් කොට ලොට් 2 වශයෙන් ලකුණුකොට ඇති ඉඩම් කොටසට මායිම් : උතුරට : පීපී 1468 හි ලොට් 3

නැගෙනහිරට : ලොට් 3 දකුණට : අංක 942 දරන පිඹුරේ ලොට් 13 සහ ලොට් 18 සහ බස්නාහිරට : ලොට් 1 යන මායිම් තුළ පිහිටි ප්‍රමාණයෙන් පර්චස් දෙළහයි දශම එකක් (අ. 0 රූ. 0 පර්. 12.1) විශාල ඉඩම් කොටස සමග පස, ගහකොළ, වගාවන් ගොඩනැගිලි සහ එහි පිහිටි සෑම සියළු දේ සහ සියළුම මාර්ග අයිතීන් ද, වෙනත් අයිතීන් ද, වරප්‍රසාදයන් ප්‍රවශතාවයන්, පරපශ්‍යතාවයන් සහ ඒ හා සම්බන්ධ අනුබද්ධයන් ද සමග එකී අංක 943 දරන පිඹුරට අනුව වෙළුම/පත්ඉරුව ඊ 942/98 යටතේ ගම්පහ ඉඩම ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ ලියාපදිංචි කොට ඇත.

2. බස්නාහිර පළාතේ, ගම්පහ දිස්ත්‍රික්කයේ, සියනෑ කෝරළේ මැද පත්තුවේ ගම්පහ ප්‍රාදේශීය සභා සීමාවන් තුළ අලුත්ගම ග්‍රාමයේ පිහිටි ''වර්තමානයේ ෆිනෑන්ස් කම්පැණිවත්ත යනුවෙන් හඳුන්වන වලව්වත්ත'' යයි කියනු ලබන ඉඩමට බලයලත් මානක තැන අයි. එම්. සී. ප්‍රනාන්දු යන අය විසින් සාදන ලද 1991 මාර්තු 14 දතම හා අංක 943 දරන පිඹුරේ නිරූපිත සීමා නිර්ණය කොට බෙදවෙන් කොට ලොට් 3 වශයෙන් ලකුණුකොට ඇති ඉඩම් කොටසට මායිම් උතුරට : පී 1468 හි ලොට් 3 නැගෙනහිරට : පාර ටෙරසය, දකුණට : ලොට් 18 සහ බස්නාහිරට : ලොට් 2 යන මායිම් තුළ පිහිටි ප්‍රමාණයෙන් පර්චස් එකොළහයි දශම තුනක් (අ. 0 රූ. 0 පර්. 11.3) විශාල ඉඩම් කොටස සමග පස, ගහකොළ, වගාවන්, ගොඩනැගිලි සහ එහි පිහිටි සෑම සියළු දේ සහ සියළුම මාර්ග අයිතීන් ද වෙනත් අයිතීන් ද, වරප්‍රසාදයන් ප්‍රවශතාවයන් පරවශ්‍යතාවයන් සහ ඒ හා සම්බන්ධ අනුබන්ධයන් ද සමග එකී අංක 943 දරන පිඹුරට අනුව වෙලුම/පත්ඉරුව ඊ 942/99 යටතේ ගම්පහ ඉඩම් ලියාපදිංචි කිරීමේ කාර්යාලයේ ලියාපදිංචි කොට ඇත.

පහත සඳහන් ඉඩම් කොටස් මතින් සහ ඒවා දිගේ ගමන් කිරීමේ හා මාර්ග අයිතිය ද ඒවා භාවිතා කිරීමේ අයිතිය ද සමගය.

1. බලයලත් මානක තැන අයි. එම්. සී. ප්‍රනාන්දු යනඅ ය විසින් සාදන ලද 1992 ජූලි 29 දතම දරන පිටසන පරිදි පිඹුරු අංක 942 හි නිරූපිත ලොට් 13 ඒ (අඩි 20 පළල පාර සඳහා වෙන්කිරීම)

2. බලයලත් මානක තැන අයි. එම්. සී. ප්‍රනාන්දු යන අය විසින් සාදන ලද 1992 ජූලි මස 29 දතම දරන පිටසන පරිදි පිඹුරු අංක 942 හි නිරූපිත ලොට් 29 ඒ (අඩි 20 පළල පාර සඳහා වෙන්කිරීම)

3. බලයලත් මානක තැන අයි. එම්. සී. ප්‍රනාන්දු යන අය විසින් සාදන ලද 1992 ජූලි 29 දතම දරන පිටසන පරිදි පිඹුරු අංක 942 හි නිරූපිත ලොට් 29 බී (අඩි 20 පළල පාර සඳහා වෙන්කිරීම)

4. අංක 943 දරන එකී පිඹුරේ ලොට් 13 (අඩි 20 පළල පාර සඳහා වෙන්කිරීම)

5. අංක 943 දරන එකී පිඹුරේ ලොට් 18 (අඩි 20 පළල පාර සඳහා වෙන්කිරීම)

6. අංක 943 දරන එකී පිඹුරේ ලොට් 19 (අඩි 20 පළල පාර සඳහා වෙන්කිරීම)

7. අංක 943 දරන එකී පිඹුරේ ලොට් 20 (අඩි 20 පළල පාර සඳහා වෙන්කිරීම)

අධ්‍යක්ෂ මණ්ඩලයේ අණ පරිදි,

සමාගම් ලේකම්.

01-790

---

**මහජන බැංකුව - ආයතනික ශාඛාව**

1986 අංක 32 දරන පනත මගින් සංශෝධිත 1961 අංක 29 දරන ඇ වගන්තිය යටතේ විකුණුම් දැන්වීම

නැගෙනහිර පළාතේ, මඩකලපුව දිස්ත්‍රික් ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ කෝරලායිපත්තු උතුර ප්‍රාදේශීය සභා සීමාව තුළ වාකරෙයි කෝරළායි පත්තු උතුර ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ අංක 211සී පානිචන්කත්ති ග්‍රාමනිලධාරි කොට්ඨාසයේ පානිචන්කත්ති ග්‍රාමයේ පානිචන්කත්තයෙහි පිහිටි බලයලත් මිනින්දෝරු කේ. කමලනාදන් මහතා විසින් සකස්කරන ලද 2010.06.10 දිනැති අංක කේකේ/බී/ටී/2010 0631 පිඹුරු අංක දරන පිඹුරේ නිරූපිත වලිමුනායි කොට්ඨාසයේ (ටැන්කුවලට් ස්ටේට් නමැති ඉඩමේ ලොට් 01 වශයෙන් ලකුණු කළ බෙද වෙන් කළ ඉඩම. ප්‍රමාණයෙන් අක්කර 10කින් (අ. 10, රූ. 0, ප. 0) එකී සම්පූර්ණ ඉඩම තුළ පිහිටි ගොඩනැගිලි, වගාවන් සහ සියලු දේ ද සමග වේ.

මහජන බැංකුවෙන් මා වෙත පවරන ලද බලය මත මා විසින් 2018 ක් වූ පෙබරවාරි මස 17 වැනි දින පෙ. ව. 11.30 දේපළ පිහිටි ස්ථානයේ දී ප්‍රසිද්ධ වෙන්දේසියේ විකුණනු ලැබේ.

වැඩි විස්තර සඳහා *රජයේ ගැසට් පත්‍රයේ* 2016.09.23 වැනි දින ද, 2016.04.30 දිනමිණ ඩේලි නිව්ස් සහ තිනකරන් පුවත්පත්වල 2016.05.06 වැනි දින පළකර ඇත. වෙන්දේසි යෝජනා දැන්වීමට අවධානය යොමු කරන්න.

*දේපළට පිවිසෙන මාර්ගය.-* පාසිකුඩා සිට වාලච්චේනිය හරහා යනවිට වාකරෙයි හමුවේ. එතැන් සිට පානිච්චකුරා ගම දක්වා ගොස් දකුණ හැරී කි. මී. 4ක් පමණ යන විට, මුහුදු වෙරළ අයිනේ මෙම දේපළ හමුවේ.

*ගෙවීමේ ක්‍රමය.* -

1. ගැනුම් මිලෙන් 10%ක් ද,
2. පළාත් අධිකාරියේ බදු සඳහා පළාත් අධිකාරියට 1%ක් ද,

3. වෙන්දේසිකරුගේ කොමිස් වශයෙන් විකුණුම් මිලෙන් 1 1/2%ක් ද,
4. ලිපිකරු හා නිවේදකගේ ගාස්තු වශයෙන් රු. 1,000ක් ද,
5. විකුණුම් වියදම් සමග වෙනත් ගාස්තු ඇතොත් එම මුදල ද,
6. විකුණුම් සහතිකය හා මුද්දර ගාස්තු ද.

ගැණුම් මිලෙන් 90% ක් වූ මුදල විකුණුම් දින සිට දින 30ක් ඇතුළත කළමනාකරු, (අයකිරීම්) මහජන බැංකුව, ආයතනික ශාඛාව, ලේක්හවුස් ගොඩනැගිල්ල, අංක 35, පළමුවැනි මහළ, දෙස්තර විජේවර්ධන මාවත, කොළඹ 10 යන ලිපිනයට ගෙවිය යුතු ය.

දුරකථන අංක 011- 2437239 - 41 ෆැක්ස් අංකය : 011- 2448067.

හිමිකම් ඔප්පුව සහ වෙනත් අදාල විස්තර ඉහත ලිපිනයෙන් ලබාගත හැක. ඉහත සඳහන් කරන ලදමුදල් දින තිහක් (30)ක් ඇතුලත නොගෙවුහොත් දැනටමත් ගෙවා ඇති ගැණුම් මුදලෙන් 10% ක මුදල ආපසු නොගෙවීමට සහ නැවත දේපළ විකිනීමට බැංකුවට අයිතියක් ඇත.

ඉහත වෙන්දේසිය පෙර දැනුම්දීමකින් තොරව නවතා ගැනීමේ අවලංගු කිරීමේ පුර්ණ අයිතිය බැංකුව සතු ය.

ඊ. එස්. රාමනායක,
උසාවි කොමසාරිස්,
බලයලත් වෙන්දේසිකරු සහ
තක්සේරුකරු/සාමවිනිසුරු,
(මුළු දිවයිනටම)

අංක 11/55, බෝගහවත්ත, කුඩාබුත්ගමුව,
අංගොඩ.
දුරකථන අංක : 012 053286, 072 0881044/072 -3207533.

01-761

---

**කොමර්ෂල් බැන්ක් ඔෆ් සිලෝන් පී. එල්. සී. - කැගල්ල ශාඛාව**

1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදානය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 4 වන වගන්තිය යටතේ කොමර්ෂල් බැන්ක් ඔෆ් සිලෝන් පී. එල්. සී. (ලියාපදිංචි අංක පී කිව් 116) මගින් මා වෙත පවරා ඇති බලය ප්‍රකාර ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණීම

සබරගමුව පළාතේ, කැගල්ල දිස්ත්‍රික්කයේ පරණකුරු කෝරළේ මාවත පත්තුවේ කැගල්ල නගර සහා සීමාව තුළ කොළඹ නුවර පාරේ කැගල්ල හි පිහිටි කැගල්ල ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ රන්වල ග්‍රාම නිලධාරි කොට්ඨාසයේ ගෝනගහහේන දන් වත්ත නමැති ඉඩමට බලයලත් මිනින්දෝරු ටී. ඒ. උස්මාන් විසින් 2006 නොවැම්බර් මස 15 වැනි දින මැන සාදන ලද අක 1153 දරන පිඹුරෙන් බෙද වෙන් කොට ඇති ලොට් 01 සහ 02 දරන ඉඩම් කොටසට

ප්‍රමාණය පර්චස් තිස්හතයි දශම දෙකයි බිංදුව (අ. 0 රූ. 0 පර්. 37.20) විශාල ඉඩම, ගොඩනැගිලි, ගසකොළ වගාවන් සහ ඒ තුළ පිහිටි සියළු දේත් සමඟ වේ.

විදනලාගේ දුලිප් ප්‍රසංග ණයකරු ලෙස කොමර්ෂල් බැන්ක් ඔෆ් සිලෝන් පී. එල්. සී ට උකස් කරන ලද ඉහත උපලේඛනයේ සඳහන් දේපළ වර්ෂ 2018ක් වූ පෙබරවාරි මස 19 වැනි දින පෙ. ව. 11.30 ට ඉහත ස්ථානයේ දී මා විසින් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකුණනු ලැබේ.

යෝජනා සම්මුතිය සඳහා 2016.09.02 වැනි දින *රජයේ ගැසට් පත්‍රය* ද, 2016.09.30 ලක්බිම, ද අයිලන්ඩ් සහ වීරකේසරී පුවත්පත් ද බලන්න. විකිණීම පිළිබඳ දැන්වීම සඳහා 2018.01.26 වැනි දින *රජයේ ගැසට් පත්‍රය* ද, 2018.01.29 වැනි දින ලක්බිම, ද අයිලන්ඩ් සහ වීරකේසරී පුවත්පත් ද බලන්න.

*ඉඩමට පිවිසීම.* - අදළ දේපළ වෙත පිවිසීම සඳහා කැගල්ල කොමර්ෂල් බැංකුව ලග සිට කොළඹ නුවර පාරේ කොළඹ දෙසට කි.මී. 3.3ක් ගමන් කළ විට අදළ දේපළ එම පාරේ දකුණු අත පැත්තේ පිහිටා ඇත. අදළ දේපළ වෙත පිවිසීම සඳහා මෝටර් වාහන ගමන් කළ හැකි (කාපට පාරක්) ඇත.

*ගෙවීමේ ක්‍රමය.* - විකිණීම ස්ථිර කළ වහාම ගැණුම්කරු විසින් පහත සඳහන් ගෙවීම් වෙන්දේසිකරු වෙත මුදලින් ගෙවිය යුතු ය.

01. ගැණුම් මිලෙන් සියයට දහයක් (10%), 2. පළාත් සභා අයබදු සඳහා සියයට එකයි 1%, 3. වෙන්දේසිකරුගේ කොමිස් මුදල් විකුණුම් මිලෙන් සියයට දෙකයි දශම පහයි (2.5%), 4. නොතාරිස් ගාස්තුව රු. 2,000, 5. ලිපිකරු හා සෝෂක වේතනය රු. 500, 6. වෙන්දේසිය සඳහා වැය කරන ද සියලුම ප්‍රචාරක වියදම්, 7. ගැණුම්කරු විසින් එකතු කළ වටිනාකම් බද්ද (VAT) ගෙවිය යුතුයි. 8. ගැණුම මිලෙන් ඉතිරි සියයට අනුව (90%) විකිණීමේ දින සිට දින 30ක් තුළ දී කොමර්ෂල් බැන්ක් ඔෆ් සිලෝන් පී. එල්. සී. හි ප්‍රධාන කාර්යාලයේ හෝ කැගල්ල ශාඛාවේ තැන්පත් කළ යුතු ය.

හිමිකම් ඔප්පු පරීක්ෂා කිරීම සහ වැඩි විස්තර සඳහා පහත සඳහන් අයගෙන් විමසන්න.

එල්. බී. සේනානායක,
සාම විනිසුරු, බලයලත් ජ්‍යෙෂ්ඨ වෙන්දේසිකරු,
තක්සේරුකරු, උසාවි කොමසාරිස්.

අංක 200, 2 වන මහල, උසාවි පාර, කොළඹ 12.
දුරකථන/ෆැක්ස් අංක : 011- 2445393
ඊමේල් senaservice@sltnet.lk

කළමණාකරු,
කොමර්ෂල් බැන්ක් ඔෆ් සිලෝන් පී. එල්. සී.
අංක 186, මහා වීදිය, කැගල්ල.
දුරකථන අංක 035 - 2230232/035-2222034
ෆැක්ස් අංකය : 035 - 2230231.

01-796

---

**කොමර්ෂල් බැන්ක් ඔෆ් සිලෝන් පී. එල්. සී. - තලවතුගොඩ ශාඛාව**

1990 අංක 4 දරන බැංකු මගින් ප්‍රදනය කරන ලද ණය අයකර ගැනීමේ (විශේෂ විධිවිධාන) පනතේ 4 වන වගන්තිය යටතේ කොමර්ෂල් බැන්ක් එෆ් සිලෝන් පී. එල්. සී. (ලියාපදිංචි අංක පී කිව් 116) මගින් මා වෙත පවරා ඇති බලයප්‍රකාර ප්‍රසිද්ධ වෙන්දේසියේ විකිණීම

බස්නාහිර පළාතේ, කොළඹ දිස්ත්‍රික්කයේ 522 ඩී පිටකෝට්ටේ ග්‍රාම නිලධාරි වසමේ කෝට්ටේ ශ්‍රී ජයවර්ධනපුර ප්‍රාදේශීය ලේකම් කොට්ඨාසයේ සල්පිටි කෝරළේ පල්ලේ පත්තුවේ ශ්‍රී ජයවර්ධනපුර මහනගර සහා සීමාව තුළ පිටකෝට්ටේ හි පිහිටි පිටකෝට්ටේ සුහසාධක මාවතේ වරිපනම් අංක 38/7 දරන අඹගහවත්ත නමැති ඉඩමට බලයලත් මිනින්දෝරු ආර්. ටී. අබ්සිංහ විසින් 2009 නොවැම්බර් මස 01 වැනි දින සාදන ලද අංක 1701 දරන පිඹුරේ ලොට් 1 දරන

ප්‍රමාණය : පර්චස් විසිතුනයි දශම පහ (අ. 0, රූ. 0, පර්. 23.5) විශාල ඉඩම සමග ගොඩනැගිලි සහ එහි පිහිටි සියලු දේත් සමග වේ.

පහත විස්තර සඳහන් මාර්ග වෙන්කිරීම මතුපිටින් මගදිගේ හා ඒ තුළ ගමන් කිරීමේ ඇති අයිතිය ද සමග වේ.

ඉහත සඳහන් පිටකෝට්ටේ පිහිටි අඹගහවත්ත නමැති ඉඩමට බලයලත් මිනින්දෝරු ජී. එල්. බී. නානායක්කාර විසින් 1986 අප්‍රේල් මස 08 වැනි දින සාදන ලද අංක 3715 දරන පිඹුරේ සඳහන් ලොට් 1 E (අඩි 10ක් පළල පාරක් සඳහා වෙන්කරන ලද) ප්‍රමාණය පර්චස් තුනයි දශම හතයි බිංදුවයි (අ. 0, රූ. 0, පර්. 3.70)

විජේසිංහගේ නිරෝෂන් ක්‍රිෂාන්ත ෆොන්සේකා සහ බර්නඩෙත් නිලන්ති ඩයස් කරුණාරත්න ණයකරුවන් වශයෙන් කොමර්ෂල් බැන්ක් ඔෆ් සිලෝන් පී. එල්. සී ට උකස් කරන ලද ඉහත උපලේඛනයේ සඳහන් දේපළ වර්ෂ 2018ක් වූ පෙබරවාරි මස 21 වැනි දින පෙ. ව. 10.30 ට ඉහත ස්ථනයේ දී මා විසින් ප්‍රසිද්ධ වෙන්දේසියේ විකුණනු ලැබේ.

යෝජනා සම්මුතිය සඳහා 2015.11.27 වැනි දින *රජයේ ගැසට් පත්‍රය*ද, ලක්බිම ද අයිලන්ඩ් සහ වීරකේසරී පුවත්පත් ද බලන්න. විකිණීම පිළිබඳ දැන්වීම සඳහා 2018.01.26 වැනිදින *රජයේ ගැසට් පත්‍රය* ද, 2018.01.30 දින ලක්බිම, ද අයිලන්ඩ් සහ වීරකේසරී පුවත්පත් ද බලන්න.

*ඉඩමට පිවිසීම.* - බොරැල්ල නගර මධ්‍යයේ සිට කොටා පාර ඔස්සේ ශ්‍රී ජයවර්ධනපුර මාවතට පැමිණ කි. මී. 3.75 පමණ දුර ප්‍රමාණයක් ගමන් කර (බත්තරමුල්ල නගර මධ්‍යයට කිලෝමීටරයකට පමණ පෙර) දකුණට හැරී කෝට්ටේ පාරේ මීටර් 100ක් පමණ දුරක් ගමන් කළ විට ඇතුල් කෝට්ටේ හංදිය හමුවේ. නැවත ඊ. ඩබ්. පෙරේරරා මාවතේ (තවද කෝට්ටේ පාර ලෙස හඳුන්වන) කි. මී. 1.5ක් පමණ දුරක් ගමන් කර (පිටකෝට්ටේ හංදියට කි. මී. 3/4 පමණ පෙර) වමට හැරී බැද්දගාන පාරේ මීටර් 200ක් පමණ දුරක් ගමන් කර නැවත දකුණට හැරී (ෆුට් බෝල් සංගමයට විරුද්ධ පැත්තේ) අඩි 10-12 පළල සුහසාධක මාවතේ මීටර් 150ක් පමණ දුර ප්‍රමාණයක් ගමන් කර අවසාන වශයෙන් වමට ඇති අඩි 10ක් පළල කොන්ක්‍රිට් අතුරා ඇති ගමන් මාර්ගයේ මීටර් 25ක් පමණ ගියවිට අදළ දේපළ දකුණු අත පැත්තේ පිහිටා ඇත. අදළ දේපළ හඳුනා ගැනීම සඳහා අංක 38/7 සුහසාධක මාවත, බැද්දගාන, පිටකෝට්ටේ.

*ගෙවීමේ ක්‍රමය.* - විකිණීම ස්ථිර කළ වහාම ගැණුම්කරු විසින් පහත සඳහන් ගෙවීම් වෙන්දේසිකරු වෙත මුදලින් ගෙවිය යුතු ය.

01. ගැණුම් මිලෙන් සියයට දහයක් (10%), 2. පළාත් සභා අයබදු සඳහා සියයට එකයි 1%, 3. වෙන්දේසිකරුගේ කොමිස් මුදල් විකුණුම් මිලෙන් සියයට දෙකයි දශම පහයි (2.5%), 4. නොතාරිස් ගාස්තුව රු. 2,000, 5. ලිපිකරු හා සෝෂක වේතනය රු. 500, 6. වෙන්දේසිය සඳහා වැය කරන ද සියලුම ප්‍රචාරක වියදම්, 7. ගැණුම්කරු විසින් එකතු කළ වටිනාකම් බද්ද (VAT) ගෙවිය යුතුයි. 8. ගැණුම මිලෙන් ඉතිරි සියයට අනුව (90%) විකිණීමේ දින සිට දින 30ක් තුල දී කොමර්ෂල් බැන්ක් ඔෆ් සිලෝන් පී. එල්. සී. හි ප්‍රධාන කාර්යාලයේ හෝ තලවතුගොඩ ශාඛාවේ තැන්පත් කළ යුතු ය.

හිමිකම් ඔප්පු පරීක්ෂා කිරීම සහ වැඩි විස්තර සඳහා පහත සඳහන් අයගෙන් විමසන්න.

එල්. බී. සේනානායක,
සාම විනිසුරු, බලයලත් ජ්‍යෙෂ්ඨ වෙන්දේසිකරු,
තක්සේරුකරු, උසාවි කොමසාරිස්.

අංක 200, 2 වන මහල, උසාවි පාර, කොළඹ 12.
දුරකථන/ෆැක්ස් අංක : 011- 2445393
ඊමේල් senaservice@sltnet.lk

කළමණාකරු,
කොමර්ෂල් බැන්ක් ඔෆ් සිලෝන් පී. එල්. සී.
අංක 07, සුරම්‍ය ගොඩනැගිල්ල,
කෝට්ටේ පාර, තලවතුගොඩ.
දුරකථන අංක 011- 2773551 /011 2773452
ෆැක්ස් අංකය : 011- 2773553.

01-795

